සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ වප් මස (ව්‍යවහාරික වර්ෂ 2019 ඔක්තෝබර්)

98 වෙනි කලාපය

## මෙකලදු නිවන් දුටුවෝ...



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# සිල්වත් වෙමු සසුන රකිමු

සිල් වත් උතුමනට ගරු බුහුමන් කරන
වත් පෙත් ඉටු කරන තම දෙගුරුන් නමින
සිප් ලත් ගුරුවරුන් වැඩිහිටියන් පුදන
පින් වත් දන රැකෙති ලැබ තෙරුවන් සරණ

ඒ පුද සිරිත් සුරකින ලෝ සත පිනැති
ආයුද සිරුර පැහැයද සැපයද ලබති
රූ සඳ ඈ සැපතට ලොබ නොව වසති
පෑ සඳ ලෙස අඹර කිතු ගොස මැද දිලෙති

පර පණ කෙරෙහි වුව තම පණසෙ සලකති
දිරියෙන රැකෙති සොර මැර කමෙහි නොයෙදෙති
නොහොබින විලස කම් රස කෙරෙහි නොඇලෙති
බොරුවෙන සුරාවෙන වන විපත අදහති

මෙත් සිත පෙරටු කොට සැදැහෙනි වසන විට
අත් වනු නැත අතුරු අනතුරු කිසිවෙ කුට
උත් තම එම ගුණෙහි අනුහස කරණ කොට
අත් වෙයි නැණ නුවණ වීරිය නොපසු බට

සිල් ගුණ වඩන ගුණ දහමට නැඹුරු වුන
දල් වන නැණ පහන මොහඳුර දුරුව යන
ඇල් මෙන බුදු බණට තම සිත යොමන දන
මුල් වන බවයි සසුනෙහි මතු දියුණ ගැන

දරුවොත් නිසි ඔවා දී රැගෙන සුමගට
සිතුවොත් බැරිද හුරු වනු පිනට දහමට
රැකුනොත් දැහැමි ලෙස මග හැඳින නිවනට
දෙවියොත් වඳිති සිල්වත් එවැනි දන හට

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# ධර්ම චක්‍රයෙන් පෙන්වන දහම් අදහස

ධර්ම චක්‍රය කිව්වම ලොකු පොඩි හැමෝගෙම මතකයට නැගෙන රූපයක් තියෙනවා. විවිධ ආකාරයෙන් චිත්‍රයට නගල, විවිධ අමුද්‍රව්‍යවලින් අඹල, රටේ තොටේ හැම බෞද්ධ පූජනීය ස්ථානයකම වගේ තියෙන නිසා, නිතර නිතර පින් දහම් කටයුතුවලදී දකින්න ලැබෙන නිසා හැමෝම දන්නවා. ඇහුවොත් මේ වගේ රවුම් හැඩයක් තියෙන දෙයක් කියල බාහිර ස්වරූපය විස්තර කරනවා මිසක්, ඒකෙන් පෙන්වන දහම් අදහස මොකක්ද කියල ඇහුවොත් බොහෝ දෙනෙකුට උත්තර නැතිව යනවා. නමුත් බෞද්ධයෙක් වුනාම මේ වගේ මූලික දහම් සංකේතයකින් පෙන්වන දහම් අදහස ඥාන සම්ප්‍රයුක්තව දැන ගත යුතුයි. කොහොම වුනත් මේ වෙනකොට ධර්ම චක්‍රයේ බාහිර ස්වරූපය ගැන නම් රටේ තොටේ විවිධ අදහස් තියෙනවා.

“දැනට පවතින ධර්ම චක්‍රය නියම ධර්ම චක්‍රය නෙවෙයි. ඒකෙ රවුමෙන් පිටතට ගැටිති පෙන්වා තියෙනවා. ඒක නැවේ සුක්කානමක්.” මේ එක අදහසක්. “ ධර්මාශෝක රජතුමා විසින් ඒ කාලයේ නියම ධර්ම චක්‍රය හදල තිබුනා. ඒකෙ ගරාදි 24 ක් තිබුනා. රවුමෙන් පිටතට ගැටිති නෙරල නෑ. ඒ නිසා ඒ ධර්ම චක්‍රය නිවැරදිව සකස් කළ යුතුයි” මේ තවත් අදහසක්. කෙනෙක් ඒ ගැන මෙහෙම අහනවා. “එහෙම කළොත් ඒක කරත්තයක රෝදයක් නේද?”

එලොව ඉඳන් මෙලොව අතගානවා වගේ කරන මේ කතාවල යථාර්ථය මොකක්ද? ප්‍රශ්නය විසඳිලා තියෙන බවක් නම් පේන්න නෑ. ඒ නිසා මේ පිළිබඳව විමර්ශනය කරන පිංවතුන්ට සත්‍යය දැනගන්න මේ ලිපිය ප්‍රයෝජනවත් වේවි.

කවුරු කොහොම කිව්වත් ධර්ම චක්‍රය කියන්නෙ කරත්තයක රෝදයක් වගේ ගැට නැතිව හදපු එකක්වත්, ගැට සහිතව හදපු එකක්වත්, ගරාදි 24, 12, 8... ආදී වශයෙන් තියෙන එකක්වත්, ලී, බදාම, ලෝහ ආදියෙන් කරපු එකක්වත්, චිත්‍රයක් විදිහට ඇඳපු එකක්වත් නෙවෙයි.

සංකේත වශයෙන් තියෙන ඒවා ධර්ම චක්‍ර විදිහට, දෙවියන් විදිහට හිතන සමහර උගතුන්ගේ, දේශකයන්ගේ, විචාරකයන්ගේ මේ වගේ අදහස් නිසා විමර්ශනයෙන් දහම් හොයන ලක්වැසි ජනතාව අන්දමන්ද වෙලා ඉන්නවා. ඒ නිසා ධර්ම චක්‍රයේ සුල මුල හොයාගෙන අතීතයට යනකොට, අපි යන්න ඕන ඒ චක්‍රය විද්‍යමාන කළ බුදු පියාණන් වහන්සේගේ දේශනාව හොයාගෙන.

බුදු පියාණන් වහන්සේ පැවැත්වූ අනුත්තර ධර්ම චක්‍රය නම්, බරණැස ඉසිපතනාරාමයේදී පස්වග තවුසන්ට දේශනා කළ ධර්ම රත්නය බව ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ පෙන්වා වදාරල තියෙනවා. ඒ කියන්නෙ චතුරායී සත්‍යය පිළිබඳව වට්ට හෙවත් වට 3 ක් බැගින් ආර්ය සත්‍ය හතරට ආකාර 12 ක් තියෙන දේශනාව.

සත්‍ය ඥාන -දුක්ඛ සත්‍යය වැටහුණා, දුක්ඛ සමුදය සත්‍යය වැටහුණා, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා සත්‍යය වැටහුණා, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා මාර්ග සත්‍යය වැටහුනා

කෘත්‍ය ඥාන -දුක පිරිසිඳ දැනගත යුතුයි කියා වැටුණා, සමුදය දුරු කළ යුතුයි කියා වැටහුනා, නිරෝධය සාක්ෂාත් කළ යුතුයි කියා වැටහුණා, නිරෝධ මාර්ගය වැඩිය යුතුයි කියා වැටහුණා

කෘත ඥාන -දුක පිරිසිඳ දැන ගත්තා, සමුදය දුරු කළා, නිරෝධය සාක්ෂාත් කළා, මාර්ගය පූර්ණ කළා. ඒ කියන්නෙ අරිහත් ඵලය.

මේ විදිහට දෙවියන් සහිත, මරුන් සහිත, බඹුන් සහිත, ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත ප්‍රජාවේ කිසිවෙකුටත් පවත්වන්න බැරි දේශනාවකට අනුත්තර ධර්ම චක්‍රය කියල කියන බව බුදු දහම තුළින් විද්‍යමාන වෙනවා. ඒ උත්තරීතර ධර්ම චක්‍රය අසමසම ලොව්තුරා බුදු පියාණන් වහන්සේලා විසින්ම ලෝකයට විද්‍යමාන කරනවා.

ඒතං භගවතා බාරාණසියං ඉසිපතනේ මිගදායේ අනුත්තරං ධම්මචක්කං පවත්තිතං අප්පතිවත්තියං... ආදී වශයෙන් දැක්වෙන්නෙ ඒ ධර්ම චක්‍රය.

උත්තර හෙවත් උතුරු කියන්නෙ උතුම්/ ශ්‍රේෂ්ඨ කියන එක. අනුත්තර කියන්නෙ උතුමෙන් උතුම්, ඒ කියන්නෙ සියල්ලෙන්ම උතුම්. එතකොට මේ අනුත්තර ධර්ම චක්‍රය කියන්නෙ චතුරාර්ය සත්‍යය විදහා පෙන්වපු නිවන් දැකීමට අවශ්‍ය කරන මූලික හර පද්ධතිය. ඒක තමයි කැටි කරල පෙන්නුවේ. ඒ ධර්ම චක්‍රය තමයි පැවැත්වූයේ. අප්පතිවත්තියං කියන්නෙ, ලොව්තුරා බුදු පියාණන් වහන්සේ පවත්වපු ක්‍රමයට මේ තුන් ලෝකයේ වෙන කාටවත් ඒ ධර්ම චක්‍රය පවත්වන්න බැ කියන එක. ඒ නිසා තමයි බුදු පියාණන් වහන්සේගේ අනන්ත ගුණ පෙන්වන කොට, තුන් ලෝකයේ කිසිවෙකුටත් මේ සැඟවිලා තිබුණ ලක්ෂණය මතු කරල දෙන්න බැ කියන්නෙ. ඒක තමයි චතුරාර්ය සත්‍යය සහිත ත්‍රිලක්ෂණය.

එතැනදි තමයි යම්පිච්ඡං න ලබති තම්පි දුක්ඛං කියල කියන්නෙ. ඒ කියන්නෙ ඉච්ඡ සේ ලබාගන්න බැරි යමක් තියෙනව නම් ඒක දුකයි. ඒක මේ ලෝකයේ ලක්ෂණයක්. එතකොට ඒ ලක්ෂණය තියෙන්නෙ ලෝක වැඩපිළිවෙළේ. ලෝක වැඩපිළිවෙළ තමයි අත්තකිලමථානුයෝගය සහ කාමසුකල්ලිකානු යෝගය කියන ක්‍රම දෙකෙන් යන්නෙ. බුදුන් වහන්සේ අරි අටඟි මඟ පෙන්වන කල් ලෝකයා ඔය ක්‍රම දෙකෙන් තමයි ගමන් කළේ. අරි අටඟි මගේ යන අය හැර අනික් අය යන්නෙ ඔය ක්‍රම දෙකෙන්. ඒ තමයි මේ ලෝකයේ පංච කාම ආස්වාදය විඳගන්න හොයාගෙන යන වැඩපිළිවෙළ. හීනෝ ගම්මෝ

පෝතුජ්ජනිකෝ අනරියෝ අනත්ත සංහිතෝ. හීනවූ, ග්‍රාම්‍යවූ, ඒ පෘථජ්ජන වැඩ පිළිවෙල අනුගමනය කරන කොට ඒක අනත්තයි. අනර්ථ සහිතයි. ඒක ඉච්ඡ සේ නැති නිසා දුකයි. එහෙනම් දුක තියෙන්නෙ අත්තකිලමතානු සහ කාමසුඛල්ලිකානුයෝගය කියන ලෝක වැඩපිළිවෙළේ. එතකොට ජාතිපි දුක්ඛා ජරාපි දුක්ඛා... ආදී වශයෙන් දුකත්, දුක්ඛ සමුදයත්, දුක්ඛ නිරෝධයත්, දුක්ඛ නිරෝධ ගාමිණි පටිපදාවත් කියන චතුරාර්ය සත්‍යයයි, ත්‍රිලක්ෂණයයි තමයි මේ ධම්ම චක්ක පවත්තන සූත්‍රයෙන් ලෝකයාට දේශනා කළේ. ඒක ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමකට හැර වෙන කාටවත් පවත්වන්න බෑ. නමුත් උන්වහන්සේ විසින් දේශනා කළාට පස්සෙ ශ්‍රාවකයන් වහන්සේලාට උන්වහන්සේගෙන් අහගෙන තම තමන්ගේ ඥාන මට්ටම් අනුව පවත්වන්න පුළුවන්.

ඉතිං මේ ධර්ම රත්නය චතුරාර්‍ය සත්‍යය මුල් කරගෙන පටිච්ච සමුප්පාද වශයෙන් අංග 12 කිනුත්, තවත් විස්තර සහිතව සූවිසි ප්‍රත්‍ය දේශනා වශයෙනුත් විග්‍රහ කරල තියෙනවා.

බුදු පියාණන් වහන්සේ ජීවමාන කාලයටත් පෙර පටන් මූර්ති ශිල්පය මගින් අදහස් ඔප්නැංවීම තිබුන බවත්, සඳකඩ පහන් සහ නොයෙක් මූර්ති බෞද්ධ සිද්ධස්ථානවලත් තිබුන බවත් පෙළ දහම් පොත්වලින් සහ ඉතිහාසගත කරුණුවලින් පෙනී යනවා. ලේඛන හා මූර්ති කලාවෙන් අදහස් පිළිඹිබු කිරීම, පෙර පටන් නූතන ලෝකයෙත් නැණවතුන් අතර භාවිතා වන ක්‍රමයක් බව අමුතුවෙන් කියන්න ඕන නෑ.

ඒ ශිල්පීන්ගේ මනෝ දර්ශනයන්ට ලක්වෙච්ච අදහස් පිළිඹිබු කරන රූ සටහන් තෙළි තුඩින් මූර්තිමත් කිරීමේ ප්‍රතිඵලයක් වශයෙන් මේ කාලයෙත් ධර්ම චක්‍ර පිළිඹිබු කරන රූ සටහන් ඔප්නංවල හදනවා දකින්න පුළුවන්. ලීවලින්, ලෝහයෙන්, බදාම ආදියෙන්, වර්ණ චිත්‍ර ආදියෙන් හදල තියෙන නිර්මාණවලින් පෙන්වපු අදහස් තෝරාගන්න, විමසුම් නුවණින් ඒ දිහා බලන්නෙ නැතිව, බාහිර හිස් කටයුතුවලට ජනතාව බැහැ ගැනීම නිසා, කල් යනකොට අර්ථය වැහිල ගිහින් ඒ නිර්මාණ සාමාන්‍ය චක්‍ර විදිහට හඳුන්වන පටු මානසිකත්වයකට ජනතාව ඇද වැටිල තියෙනවා. කලින් කල ඇති වෙච්ච සතුරු ආක්‍රමණ, බාහිර බලපෑම් ආදිය හේතු කොටගෙන ලක්දිව අර්ථ, ධර්ම නිරූපණය කරල දේශනා කරන දේශකයන්ට, එබඳු ධර්ම මාර්ග නිරුපද්‍රිතව පවත්වන්න තියා ජීවත් වෙන්නත් නිදහස් වාතාවරණයක් තිබුනෙ නැති නිසා ක්‍රමයෙන් දහම් පරිහානිය ඇති වුණා. ලක්දිව දේශකයන් වහන්සේලාට තියා මහණකම පවත්ව ගන්නවත් ඉඩ ප්‍රස්ථාව නැතිවෙලා ගිය කාලයක, මේ වටිනා දහම් වැළලිලා ගිහින්, කරන්නත් වාලේ කරන්න වෙච්ච වැඩපිළිවෙළක් බිහිවෙලා තියෙන බව පෙනී යනවා.

පෙර කාලයේ එක්තරා භික්ෂූන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වඩින්න පෙර පාත්‍රය ඉර දිහාවට දිගු කරල ටික වෙලාවක් බලාගෙන ඉඳල ඉන්පසු පිඬුසිගා යන්න වුණා. මේක දැකපු පොඩි හාමුදුරුවරු, ඒක භික්ෂූන්ගේ වැඩපිළිවෙළක් කියල හිතල, ඒ විදිහටම තමන්ගෙ පාත්‍රයත් ඉර දිහාවට දිගුකරල ඉන්පසු පිඬු සිගා යන්න පටන් ගත්තා. මේක දැකපු එක්තරා විමර්ශන බුද්ධියක් තියෙන මනුස්සයෙක්, හාමුදුරුවනේ ඔබ වහන්සේලා ඔය කරන වැඩේ මොකක්ද කියල ඇහුවා. උන්වහන්සේලාත්, අපි ඒක දන්නෙ නෑ, අපේ ගුරු හාමුදුරුවො කරන දෙයක් නිසා අපිත් කරනව කියල කිව්වා. කරුණු වටහා ගන්න හිතපු මනුස්සයා ගුරු හාමුදුරුවන්ගෙන් කරුණු විමසුවම, තමන්ගෙ පාත්තරේ සිදුරක් තියෙන බවත්, කැඳ ආදිය පූජා කළොත් ඉවතට පෙරෙන නිසා ඒ විදිහට ඉර දිහාවට අල්ලගෙන ඇඟිල්ලකින් සිදුර වහගන්න බවත් පැවසුවා. කරුණු වටහා ගන්න එහෙම ඇහුවෙ නැත්නම්, අදත් පාත්‍රයෙන් හිරු දෙවියන්ට පූජාවක් පැවැත්වීමේ ක්‍රමයක් බිහි වෙන්න ඉඩ තිබුණා (දහමේ සඳහන් වන පෙර සිදුවෙච්ච එක්තරා කතාවක් තමයි තැනට ගැලපෙන විදිහට මේ කෙටියෙන් සඳහන් කළේ).

මේ විදිහට අද ධර්ම චක්‍ර හදන්න ගැට කපන්න උපදෙස් දෙන සමාජයක, ගැට කපල ධර්ම චක්‍ර හදන්න යන්නෙ නැතිව, ඒකෙ ධර්මානුකූල අර්ථය තේරුම් අරගෙන, නියම ධර්ම චක්‍ර සංකල්පයෙන් "ඒවං උපසංහරති" කියන සංසන්දනාත්මකව දහම් වටහාගන්න නියම ධර්ම මාර්ගයට බැහැල, ධර්ම චක්‍රය කඩන්නෙ නැතිව ඒ තුළින් මේ විදිහට දහම් දකින්න උත්සාහ කරන්න.

පෙර ලක්දිව තිබිච්ච ධර්ම චක්‍රවල ගරාදි හතරකුත්, වට කළ රවුමක් ඇතුළත රවුමක් සහිතව, රවුමෙන් පිටතට ගැටිති පතිත ලද සහ නොපතිත ලද ධර්ම චක්‍රත් තිබිල තියෙනවා. නමුත් ඒවා දැනට බොහෝවිට අවිද්‍යමානයි.

මීළඟට ගරාදි 8 ක් වගේම වට රවුමකින් ගැටිති පිටතට පතිත ලද වගේම නොපතිත ලද ධර්ම චක්‍ර සංකේතත් තියෙනවා. ඒ වගේම ගරාදි 24 ක් සහිතව වට කළ රවුමක් තියෙන, ගැටිති පිටතට පතිත හෝ නොපතිත ලද ධර්ම චක්‍ර සංකේතත් තියෙනවා.

මේ සංකේතවලින් පෙන්වා තියෙන්නෙ කෙබඳු දහමක්ද කියල විමසල බැලුවම මේවායේ ආගමික වටිනාකම දැකගන්න පුළුවන්. මේවායේ ගරාදිවලින් ඔප් නංවන්නෙ මොකක්ද? පළමුවෙන්ම කියපු චක්‍රයේ **ගරාදි හතරෙන් දුක, දුකට හේතුව, දුක නැති කිරීම, දුක නැති කිරීමේ මාර්ගය යන චතුරාර්ය සත්‍යය පෙන්නුම් කරනවා. වට රවුමෙන් පෙන්වන්නෙ තණ්හා උපාදානයන්ගෙන් බැඳිල සසර ගමන් කරන වැඩ පිළිවෙල. ඇතුලත සහ පිටත හෙවත් අධ්‍යාත්මික සන්තානයේ හා බාහිරට නැමුණු සන්තානයේ ගැටළු සහිත බව ගැටවලින් පෙන්නුම් කරනවා.**

සසර කතරේ ගමන් කරන සත්වයා චතුරාර්ය සත්‍යය දන්නෙ නැතිව අවිද්‍යාවෙන් වැහිල මෝහයෙන් අන්ධකාරව යන ගමන නිසා ගැටෙමින් යන ගමන සැප හොයාගෙන යන ගමනක් විදිහට හිතනවා. ගමනේ නිසි තතු පෙන්වූ බුදු පියාණන් වහන්සේ ආර්ය සත්‍යය හෙළි කරල දුන්නට පසු සංසාර ගමනේ නියම තතු බෞද්ධයාට දැකගන්න පුළුවන් වුණා. ඒ ගැට සහිත ගමන යනකොට, **දුකේදී කලකිරෙමින් සංවේග වෙමින් ගැටෙන හැටිත්, දුකට හේතුව වන තණ්හාවෙන් ලෝකයා ප්‍රිය කරන අරමුණුවල ඇලෙමින් උද්දාම වෙලා කම්පා වෙන හැටිත්, දුක නැති කරන මග සැප නැති කරන මගක් කියල හිතාගෙන ඒ යහ මගේ යන්න මැලිවෙමින් වික්ෂිප්ත වෙන හැටිත්, දුක නැති කරන මග සැනසීම නැති කරන මගක් විදිහට හිතල ඒකෙ නොඇලී ලෝකය තුළම සැනසුම් මග හොයමින් ආත්ම දෘෂ්ටියෙන් වෙලෙන හැටිත්, එබඳු ගමනක් යන සත්වයා ගැට සහිත රෝදයක් කැරකෙමින් යනකොට ඒ මේ අත විසි වෙමින් කම්පා සහිතව යනවා වගේ සසර ගමනේ යන හැටිත් මේ ධර්ම චක්‍රයෙන් පෙන්නුම් කරනවා.**

මේ චක්‍රය දිහා බලල ඉහත කී ධර්ම ස්වභාවය හිතන කොට, භව ගමනේ තත්ත්වය පෙන්වා දුන් බුදු පියාණන් වහන්සේගේ ධර්ම මාර්ගය සිහියට



නැගෙනවා. ඒ දහම් මග සිහි කරල, අවිදු අඳුරෙන් වැහුණු සත්ත්වයාට ඒ අවිද්‍යාව පෙන්වපු බුදුන් වහන්සේටත් ධර්ම රත්නයටත් නමස්කාර වේවා කියල වැඳීම ධර්ම චක්‍ර වන්දනාව වෙනවා.

ඒ වගේම ගැට නැති **ගරාදි 4 සහිත රෝදය තුළින් පෙන්වන්නෙ, යථාවබෝධය පූර්ණ කරල සැනසීමට නිවීමට පත් වෙච්ච රහතන් වහන්සේ පිරිනිවන් පාන කල් යන භව ගමන.** ඒ ගමන අකම්පිතයි. ගැට නෑ. ඒ දිහා බලල බුදු රජුන්ගේ ධර්ම රත්නය දුක් නසන මග බවත්, ඒ මග අනුගමනය කිරීමෙන් ලබන ශාන්තියත් සිහි කරල, නිවන් ලබාදෙන මෙබඳු ධර්ම රත්නයට නමස්කාර වේවා කියල වැඳීම ඒ ධර්ම චක්‍ර වන්දනාව වෙනවා.

ජීවන ගමනේ ගැටළු සහිත බව සම්බන්ධයෙන් එක්තරා දේවතාවෙක් බුදුන් වහන්සේගෙන් අහපු ප්‍රශ්නය "අන්තෝ ජටා බහි ජටා - ජටාය ජටිතා පජා" කියන ගාථාවෙන් පෙනී යනවා. ඇතුළත් ගැට, පිටත් ගැට, ප්‍රජාව ගැටළුවලින් ගැට ගැහිල තියෙනවා කියන්නෙ ඒකෙ තේරුම. මේක ලිහන ආකාරය කොහොමද කියල අහපු පැනයට පිළිතුරු දෙන බුදු පියාණන් වහන්සේ, "සීලේ පතිට්ඨාය නරෝ සපඤ්ඤෝ... " ආදී ගාථාවෙන්, ප්‍රඥාවන්ත මනුස්සයා සීලයේ පිහිටල සමාධියත් ප්‍රඥාවත් වඩාගෙන මේ ගැටළු ලිහා ගන්නා බව දේශනා කරල තියෙනවා.

මේ දහම අනුව, ගැට සහිත ගමන ඇති මුලා මාර්ගය ගැටවලිනුත්, ඒ ගැටළු ලිහාගත්ත අරිහතුන් වහන්සේගේ පිරිනිවන් පාන කල් යන ගමන ගැට නැති චක්‍රයෙනුත් පෙන්නුම් කරන බව පෙනී යනවා.

මෙතැනදී ප්‍රශ්නයක් මතු වෙන්න පුළුවන්, දුක පෙන්වන ගැට සහිත ධර්මයටත් වඳින්නෙ ඇයි කියල. වඳින්නෙ දුකට හෝ ගැටළුවලට නෙවෙයි, ඒ දුක්ඛ ධර්මය දැක ගන්න පුළුවන් වූ විද්‍යා ඥානයට බව තේරුම් ගත යුතුයි.

මේ විදිහටම **ගරාදි අටකින් යුත් චක්‍රයෙන් පෙන්වන්නෙ ලාභ - අලාභ - යස - අයස - නින්දා - ප්‍රසංසා - දුක - සැප කියන ලෝක ධර්ම අටකින් යුක්තව අවිද්‍යා තෘෂ්ණා උපාදාන සහිතව රවුමක් විදිහට බැඳිල භවයේ යන ගමන.** ඒකෙ ගැටත් ඉහත විස්තර කළා වගේම දැනගත යුතුයි.

අටලෝ දහමින් එන කම්පාව අත්හැරපු අරිහතුන් වහන්සේගේ පිරිනිවන් පාන කල් යන භව ගමන ගැට නැති චක්‍රයෙන් පෙන්වනවා. මේ තමයි අෂ්ට ලෝක ධර්ම චක්‍රය. ඒ තත්ත්වයට පත්වුණේ ආර්ය අෂ්ඨාංගික මාර්ගය අනුගමනය කරල. ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගයත් ගරාදි අටෙන් පෙන්වනවා.

ආර්ය අෂ්ටාංගික මාර්ගයත් ලෝකෝත්තර, ලෞකික කියල දෙකක් තියෙනවා. ලෝකෝත්තර ආර්ය අෂ්ඨාංගික මාර්ගය තමයි ගැට නැති එක. ලෞකික ආර්ය අෂ්ඨාංගික මාර්ගය ගැට සහිතයි. ලෝකයේ ගැටී ගැටී යන ගමනක්. එතකොට ගැට නැති, නොගැටෙන ස්වභාවය ගත්තොත්, ඒ කියන්නෙ අටලෝ දහමින් කම්පා නොවීමේ ස්වභාවය ගත්තොත්, ඒ ඒ අයගේ අවබෝධය මට්ටමින් ගැටෙන්නෙ නෑ, ඒ මට්ටමට නිදහස්. උදාහරණ විදිහට සෝතාපන්න කෙනා සතර අපාගත මට්ටමේ ගැටීමකට යන්නෙ නෑ, ඒ නිසා ඒ මට්ටමින් නිදහස්. අනාගාමී වුනොත් කාම ලෝකයේ ගැටීම්වලින් සම්පූර්ණයෙන්ම නිදහස්. අරිහතුන් වහන්සේ සියයට සියයක්ම තුන් ලෝකයේම ගැටීම්වලින් නිදහස්. ඒ තමයි උපරිම මට්ටම.

මේ අනුව ලෝකෝත්තර අරි අටඟි මග පෙන්වන නියම ධර්ම චක්‍රය තමයි ගැට නැති ධර්ම චක්‍රය. ඒ නිසා අලුතින් ධර්ම චක්‍ර සංකේතයක් නිර්මාණය කරනව නම්, අන්න ඒ නොගැටෙන ස්වභාවය පෙන්වන පිටත ගැට නැති ධර්ම චක්‍රය තමයි වඩාත් නිවැරදි.

ඊළඟට ගරාදි 12 කින් පෙන්වන්නෙ සංසාර චක්‍රය. අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති, ජරා මරණ යන කරුණු 12 කින් යුක්තව අවිද්‍යා, තෘෂ්ණා, උපාදාන සහිතව සසර ගමන් කරන, ගැටළුවලින් පිරුන සසර ගමන මෙයින් පෙන්වනවා.

ඒ වගේම ගැට නැති ගරාදි දොළහේ රෝදයෙන් රහතන් වහන්සේගේ පිරිනිවන් පාන කල් පවතින නිවුණු ශාන්ත ගමන පෙන්වනවා.

ගරාදි 24 කිනුත්, රවුමකිනුත් වට වෙච්ච ගැට සහිත තවත් ධර්ම චක්‍රයක් තියෙනවා. ඒ තමයි පට්ඨාන ධර්ම චක්‍රය. හේතු, ආරම්මණ, අධිපති, අනන්තර, සමනන්තර, සහජාත, අඤ්ඤ මඤ්ඤ, නිස්සය, උපනිස්සය, පුරේජාත, පච්චේ ජාත, ආසේවන, කම්ම, විපාක, ආහාර, ඉන්ද්‍රිය, ධ්‍යාන, මග්ග, සම්පයුක්ත, විප්පයුක්ත, අත්ථි, නත්ථි, විගත, අවිගත කියන මේ ප්‍රත්‍ය ධර්ම 24 හේතු කොටගෙන ක්‍රියාත්මක වෙන ලෝක චක්‍රය ඉහත කී ගරාදි 24 ක උපමාවෙනුත්, අවිද්‍යා තෘෂ්ණා උපාදානයන්ගෙන් බැඳුන සත්ත්වයාගේ ගැටළු සහිත භව පැවැත්ම ගැට සහිත චක්‍රයෙනුත්, අරිහතුන් වහන්සේගේ පිරිනිවන තෙක් ලෝකයේ නොඇලෙන අකම්පිත ගමන ගැට නැති චක්‍රයෙනුත් මූර්තිමත් කරනවා. මෙබඳු ධර්ම චක්‍රවලින් පෙන්වන ධර්මය සිහි කරල ධර්ම චක්‍ර නමස්කාරය කරන්න. ඒක නිවන් මගට හේතු වෙනවා.

ඉහත කරුණු ගැන නුවණින් හිතල බලනකොට ධර්ම චක්‍ර සංකේත මොනවද, ධර්ම චක්‍ර මොනවද කියන කාරණය මනාව වැටහෙනවා. ලීයෙන්, බදාමයෙන්, ලෝහයෙන්... ආදී මොකකින් ගැට සහිතව හෝ රහිතව හැදුවත්, චිත්‍රයක් විදිහට නිර්මාණය කළත් ඒවා සංකේත බව දැනගෙන, අදහන්නෙ සංකේත නෙවෙයි ධර්මය බව දැනගෙන, ඒ සංකේත රූපවල ගැට කපනවද නැත්ද යන්න ඔබම තීරණය කරන්න.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් ලැබ දෙන කමටහන්...

18 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් කිහිපයක් මේ විදිහට සටහන් කරනවා.

මේ සමහර කමටහන් ගාථා උන් වහන්සේ විසින් සමාධියෙන් මතු නොකළත්, දීර්ඝ කාලයක පටන් පැවතෙන ගාථා කොටස් භාවිතයෙන් ඇත් වුණ කාලයක, උන්වහන්සේ විසින් අත්හදා බලල ප්‍රතිඵල අත්පත් කරගෙන අත්දැකීම් සහිතව ප්‍රකාශ කරල තියෙන නිසා ලෝකයාගේ යහපත පිණිස සටහන් කරනවා.

ඒ වගේම සමහර ගාථා කොටස් එක එල්ලේම නිවන් මගට සම්බන්ධ නොවුණත්, ගෙවල් දොරවල්වල, වගා භූමිවල තියෙන අණවින, කොඩිවින, භූමි පාළු වගේම තමන්ට එන අමනුස්ස කරදර, මාර බන්ධන, ලෙඩ රෝග, ඇස්වහ කටවහ... ආදිය දුරු කරගෙන ලෞකික අභිවෘද්ධිය සලසගෙන නිවන් මග වඩාගෙන යන්න උපකාරී වෙන නිසා සටහන් කරනවා. ඒ වගේම සමහර කර්මස්ථාන මීට පෙරත් සඳහන් කළ කර්මස්ථානවලට සමාන බවක් පෙනුනත්, ඒවායේ යම් යම් වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ අවස්ථාවන්ට අනුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ නිසා තමන්ට වඩාත් ගැලපෙන කර්මස්ථාන තෝරා ගෙන වඩන්න.

කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත් කරගන්න පුළුවන්.

353. රූපය පෙණ පිඩකි ගත යුතු හරය නැත
ඇතිවන වේදනා මෝහෙන් නැගෙනු ඇත
සංඥා මිරිඟුවකි හරයක් එතැන නැත
හැම සංඛාර හර නැති කඳ විලස වෙත

මායාකාරයෙකු රවටන ලෙස වන්නේ
ලොව විඤ්ඤාණ ඔය වගෙ සිහි කර වන්නේ
ඉන් වැඩි ලෝකයක් තුන් ලොව නැත දන්නේ
තුන් ලොවෙහිම උපාදානෙන් මිදි යන්නේ

354. රාග හිතේ හැටි මට වැටහෙනවා
රාග හිතෙන් ලොව ගිනි ගෙන දෙනවා
රාග නොවන තැන ගිනි නොම වෙනවා
රාග නිවුණ තැන නිවනම වෙනවා

දෝස හිතේ හැටි මට වැටහෙනවා
දෝස හිතෙන් ලොව ගිනි ගෙන දෙනවා
දෝස නොවන තැන ගිනි නොම වෙනවා
දෝස නිවුණ තැන නිවනම වෙනවා

මෝහ හිතේ හැටි මට වැටහෙනවා
මෝහ හිතෙන් ලොව ගිනි ගෙන දෙනවා
මෝහ නොවන තැන ගිනි නොම වෙනවා
මෝහ නිවුණ තැන නිවනම වෙනවා

355. මටද හැම දෙනාටද
රාග බන්ධන අනාථයි
රාග බන්ධන නිරෝධ වෙත්වා
ද්වේශ බන්ධන අනාථයි
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
මෝහ බන්ධන අනාථයි
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
මාර බන්ධන අනාථයි
මාර බන්ධන නිරෝධ වෙත්වා
නිබ්බාන නාථයි
නිබ්බාන වෙත්වා///

**356. මමද සියලු ලෝක සත්වයෝ නිවන් දකිත්වා ......**

මේ කමටහන වඩාගෙන ගිහින් අන්තිමට "නිවන් දකිත්වා" කියන කොටස විතරක් වැඩුවත් ඇති. ඊට පළමුවෙන් ඒ ගැන විශේෂයෙන් විස්තර ඇතිව දැන ගත යුතුයි.

දැන් මේ කමටහන වඩාගෙන යනකොට තමන්ටයි සියලු ලෝක සත්ත්වයින්ටයි කාටත් තියෙන එකම පිළිසරණ නිවන් දැකීමයි කියල තේරුම් ගත්තට පස්සෙ, "මමද සියලු ලෝක සත්වයෝ" කියල සම්පූර්ණ වාක්‍යයම කියන්න අවශ්‍ය නෑ. මුලින් ඒ විදිහට පටන් අරගෙන අන්තිමට "නිවන් දකිත්වා" කියන කොටස විතරක් වැඩුවම ඇති. මොකද අරමුණ/අදහස අරගෙන ඉවරයි. ඒ නිසා වෙනම කියන්න අවශ්‍ය නෑ.නිවන් දැකීම හැර වෙන කරන්න කිසිම දෙයක් නෑ. මේ තුල මුළු ධර්මයම කැටි වෙලා සම්පූර්ණ වෙලා තියෙනවා.

දැන් මේ කමටහන වඩන කොට නිවන කියන එක වැටහිලා තියෙන්න ඕන. පැවැත්මේ යම් තැනක අල්ලා ගැනීමක් තිබුන නම් ඒක නිවන නෙවෙයි. ඒ ඇලීමෙන් යම් අත්හැරීමක් නොඇල්මක් මිදීමක් වෙනවද ඒ තමයි නිවන. ඒක දකින්න ඕන ප්‍රඥාවෙන්. එහෙම දැක්කට පස්සෙ ලෝකයේ යම් ඇලීමක් තිබුණ නම් ඒක අත් හැරෙනවා, ඇලෙන්නෙ නැතිව යනවා, මිදිල යනවා. ඒක වලක්වන්න බෑ. මේ තමයි නිවන් දැකීමේ ධර්ම ස්වභාවය.

එහෙනම් **තමන්ටත් (මටත්), ලෝකයාටත් එකම එක පැතුමක් තියෙනව නම් ඒ තමයි නිවන් දකින්වා කියන පැතුම.** නිවන හැර එයින් එහාට තවත් පැතුමක් නෑ. **මේ අදහස අරගෙන කමටහන වඩා ගෙන යන කොට දෘෂ්ටියෙන් අල්ලගෙන තිබ්ච්ච ලෝකයේ දෘෂ්ටිය කැපි කැපි ගිහින් බලාගෙන ඉඳෙද්දි නිදහස් වෙලා යනවා.** ඇස රූපයක් අල්ලගෙන හිටිය නම් දැන් අල්ලන්නෙ නැතිව යනවා. කන සද්ද පස්සෙ දිව්ව නම් දැන් දුවන්නෙ නැතිව යනවා. නාසය ගන්ධ පස්සෙ දිව්ව නම් දැන් ඒ ගැන හොයන්නෙ නැතිව යනවා. දිව රස පස්සෙ යන බලාපොරොත්තු තිබුන නම් දැන් ඒ පස්සෙ යන්නෙ නැතිව යනවා. කය ස්පර්ශ කෙරෙහි යම් බලාපොරොත්තුවක් තිබුණ නම් අත් හැරී නොඇලී මිදී යනවා.

ඒ වගේම අතීතය පිළිබඳව හිතෙන් යමක් අල්ලගෙන තිබුන නම් ඒක අත් හැරී නොඇලී මිදී යනවා. මතු අනාගතය පිළිබඳ යම් බලාපොරොත්තු තිබුන නම් අත්හැරී නොඇලී මිදී යනවා. වර්තමානයයි කියන පැවැත්මක යම් බලාපොරොත්තුවක් තිබුන නම් අත්හැරී නොඇලී මිදී යනවා. එතකොට මෙච්චර කල් නොදැකපු අත්හැරීමක් එන්න ගන්නවා. මුල මැද අග යහපත්, අර්ථ ව්‍යඤ්ජන සහිත, සර්වාකාරයෙන් පරිපූර්ණ සාසන බ්‍රහ්ම චරියාවේ පිහිටනවා. ඒ තත්ත්වයට අනුපූර්ව ප්‍රතිපදාවෙන් ගමන් කරනවා.

කාම භවයට බැඳගෙන හිටපු යම් ශක්තියක් බලවේගයක් නැගුන නම්, කාම භවයෙන් නිදහස් වෙනකොට වෙනසක් දැනෙන්න ගන්නවා. භාවනාවෙදි ඒක සිද්ධ වෙනවා. ප්‍රතිඵල තමන්ටම අත්දකින්න ලැබෙනවා. කාම ලෝකයට ඇඳිල බැඳිල හිටපු යම්කිසි ආකර්ෂණයක් තිබුන නම් ඒකෙන් නිදහස් වෙනවා. කාමභෝගීත්වය සඳහා නාසය, දිව, කය පෝෂණය කරමින් ඒවාට තිබ්ච්ච ආකර්ෂණය දුරු වෙලා ගිහින් නිදහස් වෙලා යනවා. එතකොට අත් හැරී නොඇලී මිදී යාම කායික මානසික දෙපැත්තෙන්ම දකින්න පටන් ගන්නවා. හැබැයි **මේ කමටහන නිකං කියව කියව ඉන්න එකක් නෙවෙයි. අවබෝධයෙන් වඩන එකක්.**

එතකොට සවිතක්ක සවිචාර කළේ නිවන් දකින්වා කියල. විවේකයෙන් හට ගත්ත ප්‍රීතියයි සුඛයයි ඒකාග්‍රතාවයයි සිද්ධ කළේ අත් හැරීමේ නොඇල්මේ මිදීමේ ස්වභාවය. ප්‍රථම ධ්‍යානය බලාපොරොත්තු වෙලා හිටියෙ නැතත් අනුපූර්ව මාර්ගයේදි නිරායාසයෙන් ප්‍රථම ධ්‍යානයට පත්වෙනවා. එතකොට නාසය, දිව, ශරීරය පිනවන කාම ලෝකයේ යම් රැඳීමක් බැඳීමක් තිබුණ නම් ඒ ආකර්ෂණයෙන් නිදහස් කරල, නිදහස් වුණා කියන හැඟීම ඇති වෙනවා. හැබැයි ඒක නිකම්ම සිතිවිල්ලක්, කල්පනාවක් නෙවෙයි, ක්‍රියා පද්ධතියකින්ම නිදහස් වුණ බව දැනෙන්න පටන් ගන්නවා. කමටහන වඩා ගෙන යනකොට දන්නෙම නැතිව ප්‍රථම ධ්‍යානයට එනවා. ඊට පස්සෙ එතැනින් නවතින්නෙ නෑ. පැවැත්මේ ඉඳගෙන මොනවායින් ප්‍රීති වෙන්නද, සතුටු වෙන්නද කියල දැනගෙන දැකල ඉවරයි.

මේ වෙලාවෙ කර්මස්ථානය වඩන කොට මොන ජාතියේ දර්ශනයක්, රූපයක් පෙනුනත් ඒවා ලෝකයට අයිතියි, නිවන නෑ, නිවන මොකක්ද කියල දැන ගන්නවා. ලෝකයේ යමක් ඇත්නම් අත්හැරී ගියාද නොඇලී ගියාද මිදී ගියාද ඒ තමයි නිවන. ඒ අදහස නිකම්ම එනවා. බාහිර ලෝකයේ කිසිම අමනුස්සයෙකුට, කිසිම මාර පාක්ෂික බලවේගයකට, මායා දර්ශනයකට, මායා හඬකට රවටන්න බැරිව යනවා. මොකද දකින දර්ශනයක් තියේ නම්, ඇහෙන හඬක් තියේනම් ඒ එකක්වත් නිවන නෙවෙයි ලෝකය කියල වැටහෙනවා. ප්‍රඥාවට ගෝචර කරල ඇත්ත පෙන්වල දෙනවා. නිවන් දකින්වා කියන අදහස ගත්තම, මොන ජාතියේ රූප, මොන ජාතියේ ලෝක මවල පෙන්නුවත්, එතැන ඇඳල බැඳල තියන්න කිසිම ආකාරයකින් බැරිව යනවා. යමක් දැක්ක නම්, ඇහුවනම් ඒක ලෝකයට අයිතියි. ලෝකෙ දකින්න නෙවෙයි, ලෝකෙ දේවල් අහන්න දැනගන්න නෙවෙයි, නිවන් දකින්නයි මගේ බලාපොරොත්තුව. අන්න ඒ අදහස එනවා. ඒ නිසා නිවන් දකින්වා කියල කියවෙනවා. මොන ජාතියේ සුන්දර ලෝකයක් පෙන්නුවත් ඒක නෙවෙයි බලාපොරොත්තුව නිවන් දකින්න. නිවන් දකිනවා කියන්නෙ ලෝකයේ සුන්දරත්වය දකින එක නෙවෙයි. ලෝකයේ සුන්දරත්වය කියන්නෙ මායාවක්. මායාවෙන් යමක් දැකල අල්ලගෙන තිබුන නම්, ඒකෙන් අත් හැරී නොඇලී මිදී යාම තමයි නිවන කියන්නෙ. අන්න ඒ නිවනයි දකින්න ඕන. ලෝකයේ ඇලි ඇලී ඉන්න නෙවෙයි, අත් හැරී යාමයි මිදී යාමයි දකින්න බලාපොරොත්තුව.

මේ අදහස එනකොට නිවන් මග වැඩෙනවා, නිවන අවබෝධ වෙනවා. අවබෝධ වෙන්න වෙන්න අනුපිළිවෙළින් ලෝකය අත්හැරිල යනවා. කාම ලෝකයේ කාම අදහස්, ඇලීම් බැඳීම්, කාම බලාපොරොත්තු බලා ඉඳෙද්දි අත් හැරිල යනවා. ඊට පස්සෙ රූපාවචර ලෝකයේ යම් ඇලීමක් බැඳීමක් තිබුණද ඒකත් අත් හැරිල යනවා. ඊළඟට අරූපාවචර ලෝකයේ යම් ඇලීමක් බැඳීමක් තිබුණ නම් ඒ සියල්ලෙන්ම මානසිකත්වය අත් හැරිල යනවා. අත්හැරීමක් නොඇල්මක් මිදී යාමක් ඇත්ද ඒ තමයි නිවන් මග. ඒකෙන් ඵලයක් ලැබුව නම් ඒ තමයි නිවන් ඵල හෙවත් මග ඵල. එතකොට යම්කිසි අවිද්‍යාවකින් තෘෂ්ණාවකින් දැවි දැවී යන බැඳීමක් තිබුණ නම් ඒ සියල්ල දැවිල යනවා. ඒත් එක්කම ශරීරය මේ ලෝකයත් සමග යම් ආකර්ශණයකින් බැඳිල තිබුණ නම්, ලෝකයේ තමා/ මම කියන්නා වූ තත්ත්වයෙන් නිදහස් වෙනවා. එතකොට තමා/ මම ඉවර වෙන්න පටන් ගන්නවා. තමා/ මම කියල කාම ලෝකයේ යමක් තිබුණනම් දැන් ඒක නෑ. ඒ වගේම රූප ලෝකයට බැඳිච්ච තමා/ මම කියල යමක් තිබුණ නම් ඒකත් ඉවත්වෙලා යනවා. අරූප ලෝකයේ තමා/ මම කියල යමක් බැඳිල තිබුණ නම් ඒකත් ඉවත් වෙලා යනවා. එදාට සුද්ද වෙලා නිරෝධ වෙලා යනවා. ඒ ඒ අයගේ හේතු වාසනා අනුව දැහැන් ගැන හිතාගෙන හිටියත් නැතත් සියල්ල පූර්ණ වෙලා එනවා. අන්තිමට අෂ්ට සමාපත්තියටම පූර්ණ වෙලා ගිහින් නව අනුපූර්ව සමාපත්තියට සමවැදිල නිරෝධයටම පත් වෙනවා. එතකොට **සියලු ලෝකයෙන් අත් හැරී මිදී ගියාම හිතත් නෑ ගතත් නෑ කියල දකිනවා.**

ඉතින් මේ තත්ත්වයට වැඩිල පූර්ණ වෙනකල්ම "නිවන් දකින්වා"

කියන කමටහන වඩන්නයි තියෙන්නෙ. ඒකෙ ඉගෙන ගන්න දෙයක් නෑ, දැන ගන්නයි, අවබෝධ කරගන්නයි තියෙන්නෙ. ඒකට මූලික වශයෙන් ලෝකයේ ස්වභාවය අනිච්ච දුක්ඛ අනත්ත වශයෙන් දැන ගන්න ඕන.

දැන් ඉතින් කවුරු හරි බැන්නොත්, ඔහුත් නිවන් දකිත්වා, මමත් නිවන් දකිත්වා. තමන්ට කාත් එක්ක හරි කේන්ති ආවොත්, ඔහුත් නිවන් දකිත්වා, මමත් නිවන් දකිත්වා. කවුරු හරි ආදරෙන් කතා කරන්න ආවොත්, ආදරේ කියන එක ලෝකෙ එකක්, ඒකෙන් ඇති වැඩක් නෑ කියන අදහස අරගෙන, නිවන් දකිත්වා. රස කෑමක් හම්බවුණා, රසය පැත්තකට ගියාවෙ, නිවන් දකිත්වා. එතකොට ඒ රසයෙන් මිදිල යනවා. ලස්සන ඇඳුමක් හොයා ගෙන එනවා, ලස්සන පැත්තකින් තිබ්බ්වාවෙ, නිවන් දකිත්වා. ටික දවසක් යනකොට අත්හැරී නොඇලී මිදී යනවා. නිවන පැහැදිලි වෙනවා. සුන්දර ලෝකෙක කවුරු හරි නටනවා දැක්කොත්, නැටුම ලෝකෙට අයිති එකක්, නැටුම අත්හැරල නිවන් දකිත්වා කියන අදහස ගන්නවා. හිනාවෙලා විහිළු කරනවා දැක්කොත්, විහිළු අත්හැරල නිවන් දකිත්වා. කමටහන වැඩුනට පස්සෙ ඔය අදහස ක්ෂණිකවම හිතට එනවා. තමන්ම විහිළුවක් කරනව තේරුණොත්, මගේ මේ විහිළු අත්හැරිල මාත් නිවන් දකිත්වා. එකම වචනයයි අවබෝධ කරගෙන කියන්න තියෙන්නෙ. තුන් ලෝකෙන්ම මිදිල යනවා. වරද දකිනවා, අත් හැරිල යනවා. වෙන මොකුත් වචන අවශ්‍ය නෑ. පාරෙ තොටේ ගියත්, බස් එකේ ගියත්, නාන්න ගියත්, වැසිකිලියට ගියත්, රැකී රක්ෂා කටයුතුවලදී වුනත්, කරන කියන හැම දේකදිම ඔය අදහස එනවා. මෙහෙම අදහස අරගෙන කියන කොට “නිවන් දකිත්වා” කියන වචනය හැම තැනම පැතිරෙනවා.

එතකොට නිවන කියන එක දකින්න ඕන ඔය විදිහට. ඔය විදිහට අත්දැකීමෙන්ම දැක්කම නිවන කියන දෘෂ්ටිය අත්හැරිල යනවා. නිවන පිළිබඳව යම් මුලාවක් මෙච්චර කල් තිබුන නම් ඒක අත්හැරිල යනවා. **නිවන් දකිත්වා කියල වඩන කොට මාර්ගයට යම් පසුතලයක් ලැබෙනවා. යම් අත්හැරීමක් නොඇල්මක් මිදීමක් මුල්කරගෙන, කායික වන්නා වූ බන්ධනයකින් දාහයකින් අත් හැරිල නිදහස් වුණා හා සමාන තත්වයකට පත් වෙනවා.** ඒක අල්ලන තැනක් නෙවෙයි, නිවන් මගේ එක ලකුණක්. නිවන් මග වැඩෙන බවට ලකුණක්. ඒ තමයි ප්‍රථම ධ්‍යානය. තවදුරටත් වැඩිල ගිහින් තවත් නිදහස් වුණාම සැහැල්ලුයි. ආකර්ෂණයකින් මිදිල ගියා වගේ තත්ත්වයට පත්වෙනවා. අල්ල ගත්ත එකක් ඒකෙ නෑ. හැබැයි නිවන් මග වැඩෙන බවත් දන්නවා. ඒ තමයි ද්විතීය ධ්‍යානය. මුළු ශරීරයම සැහැල්ලු වෙලා ආලෝකයක් වගේ, කයක් තියෙනවද කියලවත් හොයන්න බැරි විසාල නිදහස් තත්වයක් එනවා. තුන්වන ධ්‍යාන තත්වයට පත්වෙනවා. ඒකෙත් අල්ල ගන්න දෙයක් නෑ. හැබැයි නිවන් මග බව දන්නවා, මග වැඩෙනවා.

ඔය වචනය සිහි කර කර කර ඉන්නකොට, අඟපසඟත් මුකුත් නැති, ඉන්න තැනක් ඕනත් නැති, එකම ආලෝකයක් බවට පත්වෙලා ආලෝකයක් වශයෙන් සමාධියට දැනෙන්න පටන් ගන්නවා. ශරීරයක් ඇත්තෙත් නෑ, කොහෙද ඉන්නෙ බැලුවම ඉන්න තැනක් කියන්නත් බෑ. හැබැයි ඒකත් නිවන නෙවෙයි. නිවන් මග යනකොට පේන පෙර ලකුණක්. ඒ තමයි චතුර්ථ ධ්‍යානය. ඒ ලකුණත් අත්හැරල ගිහින් කායික ස්වභාවයන් කිසිවක් නැති, අනන්ත වූ ආකාසයක් හා සමානව රූපාවචරය ඉක්මවල අරූපාවචරයටම යනවා. හැබැයි මග වැඩෙන ලකුණක් මිසක් අල්ල ගන්න දෙයක් ඒකෙත් නෑ. ඒ තමයි ආකාසානඤ්චායතන සමාධිය. ඊළඟට ඒකෙනුත් නිදහස් වෙලා අනන්තයට විහිදිච්ච දැනීමක් දැනෙන්න පටන් ගන්නවා. ඒකත් නිවන නෙවෙයි. එතැනත් අත් හැරීමක් සිද්ධ වුණා. විහිදුන සිතක් නැති දැනීම් මාත්‍රයක් බවට පත් වෙච්ච හිතක් තියෙනවා. එහෙම දෙයක් දැනෙන්න ගන්නවා. හැබැයි නිවන නෙවෙයි. ඒ තමයි විඤ්ඤාණඤ්චායතන අවස්ථාව. ඒකත් අත් හැරී නොඇලී මිදී ගියා. ඒක සිද්ධ වුණේ මග වැඩීමෙන්.

ඊළඟට, ඉන්න බව දැනෙන මාත්‍රයක් තියෙනවා. ඒක දැනීම් මාත්‍රයක්. ඒ නේවසඤ්ඤානාසඤ්ඤායතන සමාධිය මිසක් නිවන නෙවෙයි. ඒකෙන් එහාට තවත් ලෝකයක් නෑ. ඒ තමයි අරූපාවචර හෙවත් අන්තිම ලෝකය. ඒකත් අත්හැරී නොඇලී මිදී ගියාට පස්සෙ සියලු දැනීම් ඉවරයි. සංඥා, වේදනා දෙකම අත් හැරිල යනවා. නිරෝධ සමාපත්තියට යනවා. එතැන හිතන්න කෙනෙක් නෑ.



අන්න එබඳු ස්වභාවයටයි කවද හරි පත්වෙන්න ඕන. දැන් ඉහත තත්වයන්ගෙන් ආපහු ආවම දැනගන්නවා, තිබුන සියලු පැවැත්ම එතැන නෑ කියල. ඒ තමයි ලෝකයෙන් එතෙර නිරෝධය. ඒක ඉන්න පුළුවන් එකක් නෙවෙයි. ජීවත් වෙලා ඉන්න කෙනාට අත්හැරෙන අන්තිම කෙළවරදී නිවුණු ස්වභාවය දැනෙනවා. එච්චරයි. දැනගන්න දෙයක් එතැන නෑ, දැනීම ඉක්මෙව්වා. හැබැයි කවද හරි මේ කය මැරිච්ච දවසට ඒ තත්ත්වයට තමයි පූර්ණ වශයෙන් පත් වෙන්නෙ කියල දන්නවා. නැති දේකට පත් වුණත් නෙවෙයි, එතැන ඇති දේකුත් නෑ. ඇතැයි කියන්නත් බැරි, නැතැයි කියන්නත් බැරි අත්ති තදායතනං කියල දේශනා කරල තියෙනවා. නිවන කියල ආයතනයක් තියෙනවා. හැබැයි ඒක නිකං කෙනෙකුට තේරුම් ගන්න අමාරුයි. ඒ තැනට ගිය කෙනා දන්නවා ඒකෙ ස්වභාවය. ඒකට යන කෙනෙක් නෑ, ඉන්න කෙනෙකුත් නෑ, හිතකුත් නෑ ගතකුත් නෑ. අලුතින් හට ගත්තු එකකුත් නෑ. කොයි කාලෙ ඉඳන් තිබුණද කියල කියන්න පුළුවන් දෙයකුත් නෙවෙයි. අත්හැරී නොඇලී මිදී ගියාම අන්තිමට පත්වෙන්නෙ එතැනට. ඊට පස්සෙ එතැන සත්ත්වයෙක් පුද්ගලයෙක් නෑ. තියෙන කය ඉවර වෙච්ච දාට එච්චරයි.

මෙන්න මේ තත්ත්වය අවබෝධ කර ගන්නවා. තියෙන කය පෙර භවයේ විපාකයෙන් ගෙනාපු කය. දැන් මානසිකත්වයෙන් අල්ල ගත්ත මානසික දුක ඉවරයි. හැබැයි කයට බඩගිනි එනවා. ඒ නිසා ආහාර ගන්නවා.සීත උෂ්ණ එනකොට ඇඳුම් අඳිනවා. ලෙඩ

වුනාම පුළුවන්නම් බේතක් ගන්නවා. මරණාසන්න මොහොතක් ආවොත්, ලේසියෙන්ම ඉවර වෙන්නයි යන්නෙ, නිදහස් වෙන්නයි යන්නෙ කියල අන්තිම නිදහස බලාපොරොත්තුවෙන් අනුපාදිසේස නිර්වාණ ධාතුවෙන් පිරිනිවන් පානවා. එතැනට එනකල් මාර්ගය තම තමන්ටම අත්දැකල යන්න පුළුවන්. නැවතත් ඒක මොකක්ද කියල කාගෙන්වත් අහන්න දෙයක් නෑ. අත්හැරීමේ නොඇල්මේ මිදීමේ ශාන්තිය සන්දිට්ඨිකයි, අකාලිකයි, ඒහි පස්සිකයි... ආදී වශයෙන් කියන ඒ ගුණයන්ගෙන් යුක්තවම තමන්ට දකින්න පුළුවන්. නිවන නිසා තමයි අත්හැරී නොඇලී මිදී යන්නෙ. පැවැත්ම තුල ඉඳගෙන ලබන්න පුළුවන් නිදහස් වීමේ අන්තිම ප්‍රතිඵලය තමයි නිරෝධය.

දැන් මේ **නේවසඤ්ඤා-නාසඤ්ඤායතනයෙදි ජීවත්වෙලා ඉන්න මාත්‍රයක් දැනෙනවා. ඒ මාත්‍රය නැති වුනොත් මැරෙයි කියල හිතනවා. එතකොටම, මැරිලත් බෑ, ජීවත් වෙන්න ඕන කියල හිතනවා. ඒ නිසා නැවත ගොඩ නැගෙනවා. ඒත් ඉන්න මාත්‍රය පවත්වන්න බෑ, නැවත ගෙවිල යනවා. ගෙවිච්ච ගමන්ම, ඉවර කරල බෑ කියල නැවතත් ජීවත් වෙන්න හිතෙනවා. එතකොට වේදනා, සංඥා, මනෝ සංඛාර නැගෙනවා. සංඛාරයෙන් විඤ්ඤාණ මාත්‍රයක් නැගිල නැවතත් ජීවත් කරවනවා. හැබැයි නැගුන විඤ්ඤාණ මාත්‍රය නැවතත් ගෙවිල යනවා. එතකොට නැවත මරණ බය එනවා. ජීවිත ආසාව නිසා මනෝ සංඛාර නිපදවල වේදනා, සංඥා නිපදවනවා. එතකොට නැවතත් ජීවත් වෙනවා. ඕක තමයි නේවසඤ්ඤානාසඤ්ඤායතන කියන එකේ තේරුම.**

හැබැයි මෙතැනදි මේ කාරණයත් දකිනවා. ජීවිතාසාව නිසා තමයි සංඛාර වශයෙන් වේදනා, සංඥා නිපදවන්නෙ. නිපදවන නිසා දැනීම් මාත්‍රයක් පහළ වෙනවා. ඒකත් ගෙවිල යනවා. ගෙවෙන්න ගෙවෙන්න නැවත නිපදවනවා. ඒ නිපදවන එකත් ගෙවිල යනවා. දැන් මම මේ මොකක්ද කරන්නෙ, මොකටද නිපදවන්නෙ, ගෙවෙන එකක් මොකටද නිපදවන්නෙ, **ගෙවෙන ගෙවෙන එක නැවත ගොඩනගන්න කරන උත්සාහය වීරිය වෙහෙසක් කියල දැනෙනවා. ඒ වෙහෙස මාත්‍රයත් අත්හැරියම සියලු වෙහෙස මහන්සියෙන් නිදහස්.** එහෙනම් තීරණයක් ගන්නවා, මම මේක නැවත නිපදවන්නෙ නෑ, මැරුනොත් මැරිච්චාවෙ කියල. ඒ අදහස ගන්නකොටම අත් හැරිල යනවා, එතැනින් නිවිල යනවා. ඒ තමයි නිරෝධය. නමුත් මැරෙන්නෙ නෑ. කර්ම ශක්තියෙන් ජීවිතය පවත්වන බව පස්සෙ දැනගන්නවා. එතකොට දන්නවා, කර්ම ශක්තිය පවතින්නෙ මේ ජීවිතය කෙළවර වෙනකල් විතරයි කියල.

එහෙනම් උපන් කර්ම ශක්තියෙන් පැවැත්ම ගෙනියනව මිසක්, ඒ ජීවිතය අවසන් වුනාට පස්සෙ නැවත වාරයක් එයින් එහාට නව නිපදවීමක් නෑ. ඛීණං පුරාණං නවං නත්ථි සම්භවං විරත්ත චිත්තා ආයතිකේ භවස්මිං... කිව්වෙ ඒකයි. පහන නිවිල ගියා වගේ නිවිල යනවා. ඒ තමයි අනුපාදිසේස නිවන. උපදිසේසයක් නැතිවම නිවිල යනවා. කායික දාහයයි මානසික දාහයයි දෙකම නෑ. එයින් එහාට පැවැත්මක් නෑ. ජීවිතාසාව අත්හැරිල ගියාම පැවැත්ම තුළ මේ අත්බවය කෙළවර වෙනකල් ඉන්නවා මිසක් ආසාවන් පස්සෙ යන්නෙ නෑ. ආසාවන්ගෙන් මිදෙනවා. ජීවිතය පිළිබඳ ආසාවන් කෙලවර වුණාට පස්සෙ එයින් එහාට කළ යුතු දෙයක් නෑ. ඒ තමයි අරිහත් ඵලය. කළ යුතු සියල්ල කරල ඉවරයි, මතු කරන්න දෙයක් නෑ කියල දැනගන්නවා. එයින් එහාට විමුක්තිය සඳහා කළ යුත්තක් නෑ කියල දැන ගන්නවා. බ්‍රහ්ම චරියාව පූර්ණ කරල ඉවරයි. ඒ තමයි අරිහත් ඵලයේ ප්‍රත්‍යවේක්ෂා ඥානය. ඒ ඥානයෙන් තමයි ඒ ස්වභාවය දැනගන්නෙ. ඊට පස්සෙ ඉතින් හැකියාව තියේනම් ලෝකයා කෙරෙහි දයානුකම්පාවෙන් දහම් දෙසනවා, මග පෙන්වා දෙනවා. වෙන කරන්න දෙයක් නෑ. අල්ලන්න කිසි දෙයක් නෑ. ඇලෙන්න ගැටෙන්න දෙයක් නෑ. මැරෙන දාට මැරෙයි, වැනසෙන දාට වැනසෙයි. මැරෙනකල් ජීවත් වෙනවා. ඒ හැර අමුතු සැප හොයන්න ඕන කමක් නෑ. එහෙම මානසිකත්වයක් නෑ.

දැන් මේ බොහොම ගැඹුරු දහමක් තමයි එක්තරා ආකාරයකට තේරුම් ගන්න පුළුවන් මට්ටමකට කෙටි කමටහනක් වශයෙන් විග්‍රහ කළේ. දැන් නිවන දැනගෙන, ධම්මෝච යථා ධම්මෝ යථා අත්තෝ තතා පටිපජ්ජි තබ්බන්ති කියන, ධර්මය ධර්මය හැටියට දැනගෙන අර්ථවත්ව දැනගෙන ඊට අනුකූලව පිළිපදිනවා කියන තැනට පත් වෙනවා.

357. පංචමාර ජිතෝ නාථෝ
පත්තෝ සම්බෝධි මුත්තමං
චතුසච්චං පකාසේති
මහාවීරං නමා මහං
නමක්කාරානුභාවේන
සබ්බ භයා උපද්දවා
අනේකා අන්තරායාපි
විනස්සන්තු අසේසතෝ

(පස් මරුන් දිනූ නාථ වූ බුදු පියාණන් වහන්සේ සම්බුද්ධත්වයට පත්වෙලා චතුරාර්‍ය සත්‍යය දේශනා කළා. ඒ මහා වීරයන් වහන්සේට නමස්කාර වේවා. ඒ ආනුභාවයෙන් සියළු භය උපද්‍රව අනේක අන්තරායන් ශේෂයක් නැතිවම විනාස වේවා)

**මේ ගාථාව නිතර කමටහනක් විදිහට වඩන්නත්, සෙත් ශාන්ති ආදියටත් ඉතා යෝග්‍යයි. "මහාවීරං" කියන වචනය වෙනුවට "මහා බුද්ධං" කියල යොදාගත්තත් වරදක් නෑ. මොකද නිගන්ඨනාථටත් මහාවීර කියල ආමන්ත්‍රණය කරල තියෙන නිසා, යම් කිසි විදිහකින් ඒ කාරණය සිහියට ආවොත් හිතට අමුත්තක් එන්න පුළුවන්.**

358. මුණින්දෝ හෝති නමෝ බුද්ධං
මාර සේනා පවජ්ජති
දසකෝටි සහස්සානි
සබ්බ බන්ධන ඡේදනා

(මාර සේනා පහකළ බුදු පියාණන් වහන්සේට නමස්කාර වේවා. දසකෝටි සහස්‍රයක් වූ සියලු බන්ධන බිඳ හැරේවා)

**මේ ගාථාව අණවින බන්ධන, භූමි පාළු ආදිය කපන්න සුදුසුයි. ගෙවල්වලට භූමිවලට කරල තියෙන සියලු බන්ධනවලට මේ ගාථාවෙන් 108 වාරයක් පැන් සෙත් කරල දිනපතා ඉසීමෙන් ඒ බන්ධන දෝස දුරු කරගන්න පුළුවන්.** ඒ වගේම ශරීරවලට කරල තියෙන ඉතා බන්ධන ආදියට මේ ගාථාව නිතර භාවිතා කිරීම සහ බෙහෙත්වලට සෙත්කර ගැනීම යෝග්‍යයි.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# අට්ට පුරිස පුග්ගලා කියන ආර්යන් අටදෙනාගේම හතරවන ධ්‍යානය අවිද්‍යා අනුසයෙන් තොරද?

ලෝකෝත්තර හෙවත් ආර්ය දැහැන් ගැන කතා කරන කොට, පළමු දැහැනේ රාග අනුසය රහිත බවත්, හතරවන දැහැනේ අවිද්‍යා අනුසය රහිත බවත් අද බොහෝකොටම කතාබහ වෙනවා. මේ කාරණය විග්‍රහ කරගන්න චූල්ලවේදල්ල සූත්‍රය පාදක කරගන්නවා. ඒ කාරණයේ සත්‍ය අසත්‍යතාවයත්, ත්‍රිපිටක ධර්මයට ගැලපෙන ආකාරයත් විමසා බැලීමක් තමයි මේ ලිපියෙන් කරන්නෙ.

පළමුවෙන්ම, අනුසය සහමුලින්ම නැති වෙන්නෙ (ප්‍රහීණ වෙන්නෙ) මොන අවස්ථාවෙද කියන කාරණය තේරුම් ගන්න ඕන. මූල අටුවාවක් වන පටිසම්භිදාමග්ගප්‍රකරණය (2) ත්‍රිපිටක ග්‍රන්ථයේ පිටු අංක 6 සහ 8 අනුව, සංයෝජනත් සමග අනුසය බිඳීම විග්‍රහ කරල තියෙන්නෙ පහත ආකාරයට.

සෝවාන් මගින් සක්කාය දිට්ඨි, විචිකිච්චා, සීලබ්බත පරාමාස යන තුන් සංයෝජන ප්‍රහීණ වෙනවා. එතැනදි දිට්ඨි අනුසය සහ විචිකිච්චා අනුසය සහමුලින්ම බිඳෙනවා. සකදාගාමි මගින් ඕලාරික වූ කාම රාග සහ ඕලාරික වූ පටිඝ යන සංයෝජන ප්‍රහීණ වෙනවා. එතැනදි ඕලාරික වූ කාම රාග අනුසය සහ පටිඝ අනුසය සහමුලින්ම බිඳෙන බවත් දක්වනවා. අනාගාමි මගින් "අණු ලෙස" තිබුණ කාම රාගය සහ "අණු ලෙස" තිබුණ පටිඝ කියන සංයෝජන දෙක ප්‍රහීණ වෙනවා. එතැනදි අණු සහගත වූ කාමරාගානුසය සහ අණු සහගත වූ පටිඝානුසය සහමුලින්ම බිඳෙන බවත් පෙන්වනවා. අවසන් වශයෙන් අරිහත් මගින් රූප රාග, අරූප රාග, මාන, උද්දච්ච, අවිජ්ජා යන සංයෝජන පහවෙන බව පෙන්වනවා. ඒ මාර්ගයේදිම මාන අනුසය, භව රාග අනුසය සහ අවිද්‍යා අනුසය සහමුලින්ම බිඳෙන බවත් පෙන්වනවා.

අංගුත්තර නිකාය (4) 293 පිටුවේ එන අනුසයප්පහාන සූත්‍රයෙදි කියවෙන්නෙ, අනුසයන්ගේ සමුච්ඡේද ප්‍රහාණය සඳහා බඹසර වැඩිය යුතුයි කියල. ඒ කියන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගය වැඩිය යුතුයි කියල.

ඒ ඒ සංයෝජන මුළුමනින්ම පහවෙන්නෙ මාර්ගඵලයක් ලබනකොට බව හැමෝම වගේ හොඳින් දන්නා කරුණක්. කලින් දැක්වූ කරුණු එකිනෙක සසඳනකොට පැහැදිලිව කියන්න පුළුවන් කරුණු දෙකක් හමුවෙනවා. ඒ තමයි, **අනුසය සහමුලින්ම බිඳීම කියන්නෙ සමුච්ඡේද ලෙස බිඳීමක් බවත්, ඒ කාරණය සංයෝජන බිඳල මාර්ග ඵලයන් ලැබීමට සමගාමීව සිද්ධ වෙන බවත්** කියන කාරණා දෙක. ඒ අනුව කියන්න පුළුවන්, **අවිද්‍යා අනුසය නැත්නම් ඒ රහත් උත්තමයෙක්** කියල.

දැන් මජ්ජිම නිකාය (3) 582 පිටුවේ එන ඡ ඡක්ක සූත්‍රය තුල අනුසය බිඳ දැමීම විග්‍රහ වන ආකාරය බලමු. සූත්‍රයේ අවසන් කොටසේ අනුසය යෙදීම සහ පහවෙන හැටි කියවෙන්නෙ පහත ආකාරයට.

ස්පර්ශයෙන් හටගත් සුඛයෙන් සතුටු වෙයි, අභිනන්දනය කරයි, සතුටු බස් කියයි, එහි බැස සිටියි, එවිට රාග අනුසයෝ "අනුසේති" වේ.

"අනුසේති" කියන පාලි වචනයේ අදහස විසඳගන්න ඕන නිසා පාලි වචනයම දැනට යොදාගන්නවා. සූත්‍රයේ පාලි පාඨය මෙහෙමයි තියෙන්නෙ. "සෝ සුඛාය වේදනාය පුට්ඨෝ සමානෝ අභිනන්දති, අභිවදති, අජ්ඣෝසාය තිට්ඨති. තස්ස රාගානුසයෝ අනුසේති".

මේ විදිහටම දුක් වේදනාවක් ආවම සෝක කිරීම, වෙහෙසීම, පරිදේව කිරීම ආදිය කරන බවත්, එතකොට පටිඝානුසයෝත් "අනුසේති" කියල සඳහන් වෙනවා. උපේක්ෂා වේදනාවක් ආවම ඒකෙ සමුදයත්, අත්ථංගමයත්, ආස්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත් නොදන්නා නිසා අවිද්‍යා අනුසයෝ ගැනත් කලින් වගේම "අනුසේති" කියල සඳහන් වෙනවා.

ඒ අනුව කියන්න පුළුවන් **"අනුසයෝ අනුසේති" කියන එක භාවිතා කරල තියෙන්නෙ කෙලෙස් (සසර ගමනට හේතු) නැගුනු අවස්ථාවලට** කියල. ඊළඟට විස්තර වෙනවා, ස්පර්ශයෙන් හටගත් සුඛයෙන් සතුටු නොවෙයි, අභිනන්දනය නොකරයි, සතුටු බස් නොකියයි, එහි බැස නොසිටියි, එවිට රාග අනුසයෝ "නානුසේති" වේ කියල. පටිඝානුසයත් නානුසේති වෙන හැටි ඒ විදිහටම කියවෙනවා.

උපේක්ෂා වේදනාවේ උදයංගම, අත්ථංගම, ආස්වාද, ආදීනව, නිස්සරණ තතු සේ දනිද, එහිදී අවිද්‍යා අනුසයෝ නානුසේති කියල කියවෙනවා. ඉන්පසු සඳහන් කරන්නෙ "මහණ තෙමේ සුඛ වේදනාවේ රාගානුසය ප්‍රහාණයෙනුත්, දුක් වේදනාවේ පටිඝානුසය දුරු කරල, උපේක්ෂා වේදනාවේ අවිද්‍යා අනුසය සහමුලින්ම අත්හැරල මේ භවයේදීම සංසාර දුකෙන්

එතෙර වෙනවා කියල. පාලියෙන් තියෙන්නෙ මේ විදිහට. "සෝ වත භික්ඛවේ සුඛාය වේදනාය රාගානුසයං පහාය, දුක්ඛාය වේදනාය පටිඝානුසයං පටිවිනෝදෙත්වා, අදුක්ඛම සුඛාය වේදනාය අවිජ්ජානුසයං සමූහනිත්වා, අවිජ්ජං පහාය, විජ්ජං උප්පාදෙත්වා, දිට්ඨේව ධම්මේ දුක්ඛස්සන්තකරෝ භවිස්සතී'ති ඨානමේතං විජ්ජති".

මෙතැනදි ගලපල විසඳා ගත යුතු කරුණු කීපයක් තියෙනවා. **නිවන් දැකීම ගැන විග්‍රහ කරන්නෙ "අනුසයං පහාය" කියල.** කෙලෙස් නැගිල නැති විට විස්තර කරන්නෙ "අනුසයෝ නානුසේති" කියල. කෙලෙස් නැගුනු අවස්ථාව (උදා:රාග අරමුණක් අභිනන්දනය කරන කොට) විස්තර වෙන්නෙ "අනුසයෝ අනුසේති" කියල. "අනුසයෝ නානුසේති" වුනේ කොහොමද බැලුවොත්, එතැනදි කියවෙන්නෙ, ඒ වේදනාව පිලිබඳ උදයංගම - අත්ථංගම - ආස්වාද - ආදීනව - නිස්සරණ දකින කොට කියල ගන්න පුළුවන්. තවත් ආකාරයකට කිව්වොත්, ඒ වේදනාව පිලිබඳ අනිච්ච - දුක්ඛ - අනත්ත ලෙස දකිද්දි "අනුසය නානුසේති" කියල කියන්න පුළුවන්. මේ කියන්නෙ අනුසය ප්‍රහාණය වුනා හෝ අනුසය නෑ කියල නෙවෙයි, කෙලෙස් නැගිල නෑ කියල. ඒ බව මුලින් දක්වපු අනුසයප්පහාන සූත්‍රයෙන් සහ පටිසම්භිදාමග්ගප්පකරණ උපුටා ගැනීමෙන් තහවුරු වෙනවා. මොකද **අනුසය ප්‍රහාණය වෙන්නෙ මාර්ග ඵලයන් ලබනකොට.**

එහෙනම් "අනුසය නානුසේති" කියනකොට අදහස් වෙන්නෙ අනුසය ක්‍රියාත්මක වෙලා නෑ කියන එක. "අනුසය අනුසේති" කියල විග්‍රහ වෙන්නෙ "අනුසය ක්‍රියාත්මක වෙලා" කියන එක. අරමුණ ආවම අනුසය ක්‍රියාත්මක වෙනවා. ඒකයි සුඛ වේදනාව අභිනන්දනය කළේ. ඒ කියන්නෙ කෙලෙස් නැගුණෙ. ඒ වේදනාව අනිච්ච, දුක්ඛ, අනත්ත ලෙස බලද්දි, ඒ වේදනාව අරබයා නැගුන කෙලෙස් තියෙනව නම් යටපත් වෙනවා. එහෙම මෙනෙහි කරන තාක් කල් ඒ වේදනාව අරබයා කෙලෙස් නැගෙන්නෙ නෑ. ඒ කියන්නෙ අනුසය ක්‍රියාත්මක වෙලා නෑ. ක්‍රියාත්මක වෙන්න ඉඩ දීල නෑ.

දැන් "අනුසේති සහ නානුසේති" කියන වචනවල තේරුම මනාව පැහැදිලි වෙනවා. අනුසය කියන්නෙ මොකක්ද කියලත් මෙතැනදිම පැහැදිලි කරගන්න පුළුවන්. **අරමුණ ආවම කෙලෙස් නැගෙන්න තිබ්බ්ච හැකියාව තමයි අනුසය කියල විග්‍රහ වෙන්නෙ. ඒ කියන්නෙ පරිඋට්ඨාන වෙනවා, විශේෂයෙන් නැගිල එනවා.** එහෙම වෙන්න නොදී ප්‍රඥාවෙන් මැඩලීම තමයි මග වඩනකොට සිද්ධ වෙන්නෙ.

දළ උපමාවක් ගත්තොත්, බැලුමක් වතුර යට තියාගෙන ඉන්න උත්සාහයක් වීර්යක් ගන්න ඕන. උත්සාහය අත්හැරියොත් බැලුම උඩ එනවා. පීඩනය වැඩිය යොදල තදකරගෙන හිටියොත් බැලුම පුපුරල යනවා. ඊට පස්සෙ බැලුම යට ගහන්න අමුතුවෙන් උත්සාහ කරන්න ඕන නෑ. ලෝකයේ ආදීනව වන අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ ස්වභාවය නුවණින් බලනකොට වෙන්නෙත් ඒකයි. තදින් විදර්ශනාව නැගුනොත් අනුසය ඒ මොහොතේ ක්‍රියාත්මක වීම නතර වෙනව විතරක් නවෙයි, සහමුලින්ම බිඳ හැරීමත් සිද්ධ වෙනවා.

වහරක අභයරතනාලංකාර තෙරුන් වහන්සේ අනුසය විග්‍රහ කරන්න ගන්නෙ ගිනි පෙට්ටියේ උපමාව *(පසුව සඳහන් වන දේශනා අංක 1). ගිනි ගන්න ස්වභාවය ගිනි කූරෙ තියෙනවා. අවශ්‍ය ප්‍රත්‍යය ලැබුන ගමන් ගිනි ඇවිලෙනවා. ඒ ගිනි කූරෙ තිබුණ ගිනි ගන්න පුළුවන් ස්වභාවය තමයි ඒ ගිනි අනුසය. කවුරු හරි ගිනි කූර පත්තු කරන කොට ඒ ගිනි ඇවිළීම සිද්ධ වෙනවා. ඒක හරියට කෙලෙස් ගිනි ඇවිළීම වගේ.

දැන් මජ්ජිම නිකාය *(පසුව සඳහන් වන දේශනා අංක 1) 703 පිටුවේ එන චූල්ලවේදල්ල සූත්‍රයේ කියවෙන්නෙ මොකක්ද කියල විමසල බලමු. විසාඛ උපාසකතුමා ධම්මදින්නා තෙරණියගෙන් අහනවා, හැම සුඛ වේදනාවමෙ රාග අනුසය පහකළ යුතුද, හැම දුක් වේදනාවෙම පටිඝ අනුසය පහකළ යුතුද, හැම උපේක්ෂා වේදනාවෙම අවිද්‍යා අනුසය පහකළ යුතුද කියල. එතැනදි දෙන පිළිතුර මේ ආකාරයට උපුටා දක්වන්න පුළුවන්.

"ඉධාවුසෝ විසාඛ භික්ඛු විවිච්චේව කාමේහි විවිච්චේව අකුසලේහි ධම්මේහි සවිතක්කං සවිචාරං විවේකජං පීති සුඛං පඨමජ්ඣානං උපසම්පජ්ජ විහරති. රාගං තේන පජහති. න තත්ථ රාගානුසයෝ අනුසේති. "

"ඉධාවුසෝ විසාඛ භික්ඛු ඉති පටිසඤ්චික්ඛති. කුදස්සු නාමාහං තදායතනං උපසම්පජ්ජ විහරිස්සාමි, යදරියා එතරහි ආයතනං උපසම්පජ්ජ විහරන්ති'ති. ඉතිං අනුත්තරේසු විමෝක්ඛේසු පිහං උපට්ඨාපයතෝ උප්පජ්ජති. පිහප්පච්චයා දෝමනස්සං. පටිඝං තේන පජහති. න තත්ථ පටිඝානුසයෝ අනුසේති."

"ඉධාවුසෝ විසාඛ භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බේව සෝමනස්ස දෝමනස්සානං අත්ථගමා අදුක්ඛං අසුඛං උපේක්ඛාසති පාරිසුද්ධිං චතුත්ථං ධ්‍යාන උපසම්පජ්ජ විහරති. අවිජ්ජං තේන පජහති. න තත්ථ අවිජ්ජානුසයෝ අනුසේති."

**රාග අනුසය ගැන කියද්දි විස්තර වෙන්නෙ, පළමු දැහැනේ රාගය දුරුවෙලා තියෙන බවත්, අනුසය ක්‍රියාත්මක වෙන්නෙ නැති බවත්.** මේ කාරණාව තවත් විස්තර කරගත්තොත් හොඳට තේරෙනවා. **දහම් දැක්ක ආර්යෙක් කොහොමද දැහැනකට යන්නෙ, අනිච්ච - දුක්ඛ - අනත්ත මෙනෙහි කිරීම තුළින්මයි.** තවත් විදිහකින් කියනව නම්, දැහැන ලැබුනෙ පැවැත්මේ ආදීනව වන අනිච්ච, දුක්ඛ, අනත්ත මෙනෙහි කිරීමේ ඵලයක් විදිහට. **ඒ ආර්යා දැහැනට ඇලෙන්නෙත් නෑ. ඒ සුඛය අභිනන්දනය කරන්නෙත් නෑ. දැහැන තුල ඉන්නෙත් අනිච්ච, දුක්ඛ, අනත්ත සඤ්ඤාවෙන්මයි.** එහෙම නැත්නම් ඒක ආර්ය දැහැනක් වෙන්නෙ නෑ. එහෙම විදර්ශනාවෙන්ම ඉන්නවා කියන්නෙ, ධ්‍යාන සුඛය හරහා කෙලෙස් නැගිල ඇවිත් නෑ කියන එක. "රාගං තේන පජහති" කිව්වෙ, ඒ විදර්ශනාව හේතුවෙන් ධ්‍යාන සුඛ වේදනාව අරබයා නැගුන රාග කෙලෙස් නෑ කියන අදහස. "න තත්ථ රාගානුසයෝ අනුසේති" කියන්නෙ, රාග අනුසය ක්‍රියාත්මක වෙලා නෑ කියන අදහස. මෙතැනදි රාග අනුසය පහවෙලා හෝ රාග අනුසය නෑ කියන අදහස හෝ කියවෙන්නෙ නෑ.

**"මම කවදනම් නිවන් දකින්නද!" කියල හිතනකොට හිතට දැනෙන දුක අරබයාත් පටිඝ අනුසය ක්‍රියාත්මක නොවෙන බව ධර්මයේ පෙන්වනවා.** ඒක නිරාමිස වූ සිතිවිල්ලක ප්‍රතිඵලයක් විදිහට ලැබුණ දුකක් මිසක්, "මේ මොන දුකක්ද! මේ මොන කරදරයක්ද!" කියල ගැටීම් සහගත දුකක් වෙන්නෙ නෑ. එතැන පටිඝ කෙලෙස් නැගෙන්නෙ නැත්තෙ අන්න ඒ හේතුව නිසා. ඒ කියන්නෙ, පටිඝ අනුසය ක්‍රියාත්මක වෙන්න ඒ දුක් වේදනාව හේතු නොවෙන නිසා.

ආර්ය හතරවන දැහැනෙදි වෙන්නෙත් පළමු දැහැනේ වෙච්ච දේමයි. හැබැයි ඒ වෙලාවෙ තියෙන්නෙ උපේක්ෂා වේදනාව. ආර්ය දැහැනක් නම් අනිච්ච, දුක්ඛ, අනත්ත සඤ්ඤා නිරතුරුවම ක්‍රියාත්මක වෙමින් පවතින නිසා, ඒ උපේක්ෂාවත්

උත්සාහයෙන් වීර්යෙන් ගොඩනගාගත්ත දෙයක් විදිහට දකිනවා. ඒ උපේක්ෂාවත් ඉන්න සුදුසු හොඳ තැනක් විදිහට දකින්නෙ නෑ. ඒ කියන්නෙ, ඒ ධ්‍යාන උපේක්ෂා වේදනාව පිළිබඳ අවිද්‍යාව ඒ වෙලාවෙ නෑ. “අවිජ්ජං තේන පජහති” කිව්වෙ ඒකයි. ඒ කියන්නෙ, ඒ උපේක්ෂා වේදනාව අරබයා අවිද්‍යා අනුසය ක්‍රියාත්මක වෙලා නෑ. “න තත්ථ අවිජ්ජානුසයෝ අනුසේති” කිව්වෙ ඒ අදහසින්.

මෙතැන වැදගත් කාරණයක් සැඟවිලා තියෙනවා. මේ සූත්‍රයේ කතා කළේ, අනුසය පහකරන්න උත්සාහ කරන්න ඕන නැති වේදනාවන් පිළිබඳව. “අවිද්‍යාව නෑ” කිව්වෙ, උපේක්ෂා වේදනාව අරබයා හටගන්නා අවිද්‍යාව පිළිබඳව. එහෙම නැතුව “සියළු අවිද්‍යාව දුරුයි” කියල මෙතැන කියවුනේ නෑ. යමෙක් එහෙම අදහස් ගන්නව නම්, ඒක දහමට ගැලපෙන්නෙ නෑ. ඒ ඉතුරු සංයෝජනයන් වොත්තපන සිත තුළදි තීරණය දීමට යෙදෙන නිසා. මේ කරුණ වහරක අභයරතනාලංකාර තෙරුන් වහන්සේ විසින් දේශනා කරල තියෙන චිත්ත වීථි විග්‍රහයන් තුල මනාව පෙන්වා දෙනවා *(පසුව සඳහන් වන දේශනා අංක 2).

ඒ වගේම කලින් දැක්වූ සූත්‍ර අනුවත්, අවිද්‍යාව සම්පූර්ණයෙන්ම බිඳෙන්නෙ සංයෝජන සහමුලින්ම දුරු කරන කොට කියන කාරණය කියවුනා.

දැන් අපිට පැහැදිලිව කියන්න පුළුවන් **“හැම ආර්යෙකුටම එන හතරවෙනි දැහැනෙදි අවිද්‍යා අනුසය රහිතයි” කීම ධර්මානුකූල නැති බව. අවිද්‍යා අනුසය රහිත හතරවෙනි දැහැනක් තියෙන්න පුළුවන් රහත් උතුමෙකුට විතරයි කියන කාරණය** ඉතා පැහැදිලි කරුණක්. වහරක අභයරතනාලංකාර තෙරුන් වහන්සේත් මේ කාරණය අවධානයෙන් විස්තර කරන්නෙ, අවිද්‍යා අනුසය රහිත චතුර්ථ ධ්‍යානය යමෙකුට ලැබෙනව නම් ඒ අරිහත් ඵලයත් එක්කමයි කියල. අපිට අවශ්‍ය නම් ආර්ය පළමු දැහැනේ රාග අනුසය පිළිබඳවත්, ආර්ය හතරවන දැහැනේ අවිද්‍යා අනුසය පිළිබඳවත් මෙහෙම කියන්න පුළුවන්.

සේඛ පළමු දැහැනේ ඇති සුඛ වේදනාව පිළිබඳව රාග අනුසය යෙදෙන්නෙ නෑ (ක්‍රියාත්මක වෙන්නෙ නෑ). සේඛ හතරවෙනි දැහැනේ උපේක්ෂා වේදනාව පිළිබඳ අවිද්‍යා අනුසය යෙදෙන්නෙ නෑ. **සේඛ පුද්ගලයා ගැන කතා කරන කොට අනුසය රහිත ආර්ය ධ්‍යානයක් සත්‍ය වෙන්නෙ නෑ. අනුසය රහිත ධ්‍යානයක් සත්‍ය වෙන්නෙ අරිහතුන් වහන්සේ නමකට විතරයි.** (සේඛ කියන්නෙ රහත් නොවූ, නමුත් ආර්ය භූමියට පත් පිරිස. )

ලිපියේ කියවෙන කරුණුවලට මූලාශ්‍ර කර ගත්ත අභයරතනාලංකාර තෙරුන් වහන්සේ විසින් දේශනා කරන ලද දේශනා කිහිපයක් තමයි මේ.

(1). අනුසය පිළිබඳව

www. waharaka. com/listen/ CD088-46

www. waharaka. com/listen/ CD045-13

www. waharaka. com/listen/ CD048-20

www. waharaka. com/ listen/ Sadaham-Sakachchaa-01-01

(2). සිතක් කහට ගැන්වෙන ආකාරය සහ වොත්තපන සිතේ ක්‍රියාව

www. waharaka. com/listen/ CD090-34

www. waharaka. com/listen/ CD052-25

**සටහන**
**රොෂාන් හෙන්දහේවා සහ**
**ආචාර්ය චින්තා හඳපාන්ගොඩ**
ඕස්ට්‍රේලියාව
roshan.hendahewa@gmail.com
+61 433 786 785

# නොපළ වූ ගුණ කඳ

## මෙකලද නිවන් දුටුවෝ XXVII

### අභයරතනාලංකාරය - 98


වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

මෙකෙනෙකුට ලෝකෝත්තර වශයෙන් නිවීම සැනසීම ලැබෙනවා කියන්නෙ අනන්ත සසරේ ලැබෙන පරම දුර්ලභ දෙයක්. ඒ තරම් වටිනා දෙයක් තවත් නෑ. නමුත් ඒ කාරණය පිළිගන්නෙත් ලෝකෝත්තර වශයෙන් නිවුන සැනසුන කෙනෙක්, ඒ දහම අහපු කෙනෙක් විතරයි. අනෙක් අයට ඒක තේරෙන්නෙ නෑ. ලෞකික වශයෙන් ලබන පංචකාම ආස්වාදයට තමයි ලෝකයා නිවීම සැනසීම කියල හිතාගෙන ඉන්නෙ. ඉතින් ඒ වගේ ලෞකික දෙයක් ලැබිල නිවුනා සැනසුණා කියන උදවිය ගැන ඕන තරම් රටේ ලෝකයේ විවිධ මාධ්‍ය ඔස්සේ අහන්න ලැබෙනවා. මොකද මිනිස්සු හොයන්නෙත් ඒ ජාතියේ ඒවමයි. අනුන්ට ඉරිසියා කරල පොරකාල ගහ මරාගෙන ගන්න දඟලන්නෙත් ඒ ජාතියේ නිවී සැනසීමක්මයි. අන්තිමට නිවීම සැනසීම කොහොම වුණත් මරණින් කෙළවර දුක් විඳින අත්බැව් ලබන්න තමයි සිද්ධ වෙන්නෙ. නමුත් ඇස් දෙකට පේන්නෙ නැති නිසා බොහොමයක් උදවිය ඒ කාරණය පිළිගන්නෙත් නෑ.

ඒ කාරණය එහෙම සිද්ධ වෙද්දි, නිවන් දකින බණ දහමක් අහල තමන්ගෙ පාඩුවේ ඒ මග අනුගමනය කරල, ලෝකයාට අඬබෙර ගහන්නෙ නැතිව නිවී සැනසිලා සදහටම නිදහස් වෙන, එහෙම නැත්නම් කෙලෙස් නිවුණු තරමට ගැලපෙන වෙනත් සුගතියක ඉපදිලා සසර ගමන කෙළවර කරල සදහටම නිවී සැනසෙන පිරිසකුත් මේ ලෝකයේ දුර්ලභව නමුත් ඉන්නවා. හැබැයි ඒ අය ගැන ලෝකයා දන්නෙ නෑ. ඒවා මාධ්‍යවල යන්නෙත් නෑ. ගියා කියල ලෝකයාට ඒවා තේරෙන්නෙත් නෑ, ඒවායින් ඇති වැඩකුත් නෑ. සමහරවිට අද කාලෙ නම් හිනාවෙලා විහිළු කරල තවත් පව් පුරව ගනියි. ඒ නිසා ඒ වගේ නිවුණු සැනසුණු උදවිය ගැන කියනකොටත් බොහොම ප්‍රවේසමෙන් තමයි කියන්න ඕන. බුද්ධ කාලයේ ඒ වගේ බණ දහම් අහල නිවුණ සැනසුන උදවිය ගැන දහමේ සඳහන් වුනත්, අද කාලෙ එහෙම දේවල් සිද්ධ වුනයි කිව්වම ඒවාට අපහාස උපහාස කරන අය තමයි වැඩි.

හැබැයි මේ නිවීම සැනසීම හොයන, ඒ දහම් මග අනුගමනය කරන හේතු වාසනාවන්තයින් ඒ ලෝකයා අතරම පහළ වෙලා නිහඬවම උත්සාහයක වීර්යක යෙදෙන බවත් අමතක නොකළ යුතුයි. අන්න ඒ වගේ පින්වතුන්ගේ කනට නිවී සැනසී ගිය තවත් උතුමන් ගැන අහන්න ලැබෙනවා කියන්නෙත් සතුටට කාරණයක්. ඒ වගේම වර්තමානයෙත් එහෙම නිවෙන්න සැනසෙන්න පුළුවන්කම තියෙනවා, එහෙම නිවී සැනසෙන උතුමන් ඉන්නවා, අපිටත් එහෙම නිවී සැනසෙන්න පුළුවන් කියන පණිවිඩයත් ඒ ඔස්සේ ලැබෙනවා. ඒ නිසා ඒ වගේ සිද්ධියක් අහන්න ලැබෙනව නම් ඒක මේ දහම් මග අනුගමනය කරන පින්වතුන්ට තවත් සතුටට ධෛර්යයට කාරණයක් වෙනවා.

හැබැයි ඒ වගේ කෙනෙක් නිවී සැනසුනාද කියල ඇත්තටම දන්නෙ, එක්කො ඒ නිවී සැනසී ගිය උත්තමයා, එහෙම නැත්නම් ඒ බණ දහම් අහල ඒ මග අනුගමනය කරල ඒ තත්වයට පත්වෙච්ච විශේෂ දිව්‍යස් සමාධි තිබුන උත්තමයෙක් විතරයි. ඒ නිසා එහෙම උත්තමයන් නැති කාලයක කෙනෙක් නිවී සැනසිලා සසර ගමන කෙළවර කළත්, ඒ ගමන නිහඬවම සිද්ධවෙලා ලෝකයා නොදැන කාලයාගේ වැලි තලාවෙන් යට යනවා. ඒ නිසා ඒ වගේ කාරණයක් දැකබලා ගන්න පුළුවන් විශේෂ දිව්‍යස් සමාධිලාභී උත්තමයන් ඉන්නව කියන්නෙත් මේ කාලයේ මහා භාග්‍යයක්.

කොහොම හරි ඉතින් කාලයාගේ වැලි තලාවෙන් යට යන්න ගිය, කවුරුවත් නොදැන නිවී සැනසුන උත්තමයින් පිළිබඳව විස්තර කිහිපයක් මේ සඟරාවේ මීට පෙරත් පළ කළා. මීට වසර දහයකට පමණ පෙර කෑගල්ල දිස්ත්‍රික්කයේ එක්තරා ප්‍රදේශයක ආරාමයක වැඩ වාසය කළ ගෞරවනීය භික්ෂූන් වහන්සේ නමක් අවසන් මොහොතේ සසර ගමන කෙළවර කළ සිද්ධියක් මේ සඟරාවේ මීට පෙරත් පල කරල තියෙනවා. ඒ සිද්ධිය හරියට දැනගත්තෙත් වහරක හාමුදුරුවන්ගෙන්. හැබැයි වහරක හාමුදුරුවො උන්වහන්සේව කවදාවත් දැකල කතාබහ කරල තිබුණෙත් නෑ. කිසිම විදිහකින් දැන අඳුනගෙන ඉඳලත් නෑ. උන්වහන්සේගේ ආදාහනයෙන් පසු ශාරීරික අස්ථි කොටස් පිච්චෙන්නෙ නැතිව අමුතු ආකාරයකට දිස් වීම නිසා ශිෂ්‍ය භික්ෂූන් වහන්සේ නමක් වහරක හාමුදුරුවො මුණ ගැහෙන්න ඇවිත් ඒ ගැන විස්තර ප්‍රකාශ කරල තිබුණා. ඒ වෙලාවෙදි තමයි වහරක හාමුදුරුවො සමාධියට යොමු කරල බලල උන්වහන්සේගේ පෙර අත්බැව්වල පටන් ආපු ගමන් විස්තරයක් කියල තිබුනෙ. උන්වහන්සේ මීට අවුරුදු හතරකට පමණ පෙර කොටවෙහෙර ප්‍රදේශයේදී තවත් ආර්ය උත්තමයන් වහන්සේ නමකගෙන් බණ අහල දහම් අවබෝධ කරගෙන මේ අත්බවේ ජාත සෝතාපන්නයෙක් විදිහට උප්පත්තිය ලබපු උත්තමයෙක්. මේ අත්බවයෙ තමන් වහන්සේගේ උපසම්පදා පින්කමට සහභාගි වෙලා එනකොට තමන්ගෙ පියා හදිසි අනතුරකින් ශරීරය කෑලි කෑලිවලට කැඩිල මියයනවා දැකල තමයි, අනේ මේ කාම ලෝකය මෙහෙම කැඩිල බිඳිල වැනසිලා යන අසාර දෙයක්නෙ කියන අදහස අරගෙන අනාගාමී තත්ත්වයට පත් වෙලා තියෙන්නෙ.

ඊට පස්සෙ අවසන් කාලයේ ඇති වෙච්ච දැඩි කායික රෝගී තත්ත්වයකින් තමයි උන්වහන්සේ අපවත් වෙන්නෙ. ඒ මොහොතේ තමයි අන්තරා පරිනිබ්බායි අවස්ථාවට පත් වෙලා පිරිනිවන් පාල තියෙන්නෙ.

කොහොම හරි එදා උන්වහන්සේගේ ශිෂ්‍ය භික්ෂූන් වහන්සේ නමකට වහරක හාමුදුරුවො උපදෙස් දුන්නෙ, උන්වහන්සේ අරිහතුන් වහන්සේ නමක් නිසා ආදාහනයෙන් ඉතිරි වෙච්ච ශාරීරික ධාතු කොටස් නිධන් කරල චෛත්‍යයක් හදන්න කියල. ඒ අනුව මේ වෙනකොටත් උන්වහන්සේගේ පිළිරුවක් සහිතව කුඩා චෛත්‍යයක් ඒ ආරාම භූමියේ ඉදි කරල තිබුණත් ඒවායේ පින්තූර හෝ වැඩි විස්තර මේ සඟරාවේ පළ කරන්න බැරි ප්‍රායෝගික හේතුවක් තියෙනවා. මොකද උන්වහන්සේගේ එදා හිටපු ඒ ශිෂ්‍ය හිමිවරු මේ වෙන කොට හොයාගන්න විදිහක් නෑ. දැන් ඒ ස්ථානයේ වැඩ ඉන්නෙ අලුත් භික්ෂූන් වහන්සේලා පිරිසක්. ඒ වගේම ඒ සමහර දායකයන්ගෙනුත් ඒ සඳහා වැඩි කැමැත්තක් සහයෝගයක් ලැබුනෙ නෑ. ඉතින් මේ සිද්ධිය පිළිනොගන්නා වෙනත් භික්ෂූන් වහන්සේලා හා දායක පිරිස් අනවශ්‍ය ගැටළු මතු කරල දොස් කියල අපවාද කරගන්න පුළුවන් නිසා, මේ අවස්ථාවේදී ඒ ගැන විස්තර පල කරන්න පුළුවන් කමක් නෑ. යම්කිසි විදිහකින් ඒ කාරණය පිළිගන්නා ශිෂ්‍ය භික්ෂූන් වහන්සේ නමක් මුණ ගැහිල ඊට කැමැත්ත පළ කළොත් විතරයි ඒවා පල කරන්න පුළුවන් වෙන්නෙ. ඒ නිසා අවාසනාවකට, වර්තමානයේ නිවන්, මගඵල සම්බන්ධයෙන් පවතින දුර්මත නිසා තවත් උත්තමයකුගේ ඒ අසිරිමත් සිදුවීම වැඩි විස්තර සහිතව සඳහන් කරන්න නොහැකි වෙලා තියෙනවා. නමුත් ඒ සඳහා ඉඩකඩ ලැබුන නම් මේ ගැන උනන්දුවක් දක්වන සැදැහැවත් පින්වතුන්ටත් සාදුකාර දීල චිත්තප්‍රසාදයක් මතු කරගන්න අවස්ථාව තිබුණා.

ඉතිං වහරක හාමුදුරුවො නොසිටින්න ඒ කතාවත් කවුරුවත්ම දන්නෙ නැතිවම යට යන්න තිබුණා. හැබැයි එහෙම යට ගියා කියල ඒ නිවී සැනසුන උත්තමයාට ඒකෙ අඩාලත්වයක් නැති වුනත්, මේ සමාජයේ දහම් මග වඩාගෙන යන අනෙකුත් පින්වතුන්ට චිත්තප්‍රසාදයක් මතුකරගෙන ගුණ වඩා ගන්න ඒ වගේ කාරණා දැන ගැනීම බොහොම වැදගත් වෙනවා. අදටත් ඒ වගේ තවත් දුලබ සිදුවීම් මේ ලෝකයේ සිද්ධ වෙනවා ඇති. ඒත් ඒ හැම සිද්ධියක්ම යොමු කරල බලන්න පුළුවන් උත්තමයො අඩු නිසා, එහෙම බලන්නෙ නැති නිසා ඒ ගැන වාර්තා වෙන්නෙ නෑ.

පසුගිය අවුරුදු 20-25 අතර කාලය තුල අන්න ඒ වගේ පූර්ණ වශයෙන් හෝ අර්ධ වශයෙන් හෝ නිවී සැනසී ගිය උත්තමයන් පිළිබඳ කතා කිහිපයක් තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්නෙ. වහරක හාමුදුරුවො නොසිටින්න මේ එකක්වත් අපිට දැනගන්න ලැබෙන්නෙ නෑ. උන් වහන්සේගේ දිවැසට සමාධියට ගෝචර වෙලා ප්‍රකාශ කරපු ඒ වගේ සිද්ධි කිහිපයක් තමයි දැනගන්න ලැබුණ විදිහට ලෝකයාට යහපතක්ම වේවා කියන අරමුණෙන් මේ සටහන් කරන්න.

ඒ වගේම මේ කතා නිකම්ම කියවල සතුටු වෙලා අහක දාන්නෙ නැතිව, මේවායින් ගන්න පුළුවන් ආදර්ශයන් බොහොමයි. **මේ සංසාරයේ තියෙන භයානකත්වයත්, මිනිස්සු නොදැන කරගන්නා පව් නිසා අන්ධකාරයට ගිහින් දුක් විඳින ආකාරයත්, සාසනික දෑ වැරදියට පරිහරණය කිරීමේ බරපතළකමත් ඇතුළු තවත් පැතිකඩවල් ගණනාවක්ම මේ කතා පුවත්වලින් කියවෙනවා.** තම තමන්ගේ නැණ නුවණට ගෝචර වෙන ප්‍රමාණයට ඒවායින් ගන්න පුළුවන් දහම් අදහස අරගෙන, මෙලොව පරලොව අභිවෘද්ධියත් සලසගෙන නිවී සැනසීමට පත් වෙන්න සියල්ලෝම අදිටන් කර ගනිත්වා.

අද කාලෙත් එක්ක බලනකොට ඒ වගේ තවත් දුර්ලභ සිදුවීමක් මීට අවුරුදු විස්සකට විතර පෙර කලගෙඩිහේන ප්‍රදේශයෙන් වාර්තා වෙලා තිබුණා. වහරක හාමුදුරුවො අබේරත්න උපාසක මහත්තය විදිහට ඒ ප්‍රදේශයේ සාසනික කටයුතු කරගෙන යද්දි, ඒ දහම් සාකච්ඡාවලට සම්බන්ධ වෙච්ච උපාසක අම්ම කෙනෙක් මරණින් පසු සසර ගමන කෙළවර කළ සිද්ධියක් තමයි ඒ විදිහට වාර්තා වෙන්නෙ. ඇය පිනට දහමටත් බොහොම ලැදි උපාසිකාවක්. ඒ වගේම බොහොමයක් පින්කම්වල මුල් තැන අරගෙන කාත් එක්කවත් ගැටීමක් නැතිව කටයුතු කරපු කෙනෙක්. ඒ වෙනකොට වයස අවුරුදු හැට දෙකක් විතර ඇති. ඇය දවසක් අබේරත්න උපාසක මහත්තය මෙහෙයවපු දහම් සාකච්ඡාවකට සහභාගි වෙලා චතුරාර්ය සත්‍යය පිළිබඳ ධර්ම දේශනාවකට සවන්දෙන කොට ඒ අතර මගදි “මට අද අනිච්ච වැටහුණා” කියල කියන හඬක් ඒ කැසට් පටියක පවා පටිගත වෙලා තිබුණා. ඒ බව මේ මෑත කාලයේ ඒ පැරණි දහම් පටියක් ශ්‍රවණය කරපු, එදා වැඩසටහන්වලට සහභාගි වෙච්ච තවත් පින්වතුන් කිහිප දෙනෙක්ම පැවසුවා. ඇය නමින් කෝරලගමගේ ලිලියට් උපාසිකා මාතාව. ඒ පිළිබඳව විස්තර හොයන්න අපි ඇය හිටපු කලගෙඩිහේන ප්‍රදේශයේ නිවසට යනකොට, විවාහ වෙලා දැනට වැඩිමහල් දරුවොත් ඉන්න දහම් පාසල් ගුරුවරියක් වන ඇයගේ දියණියක් මීට අවුරුදු 23 කට පෙර වෙච්ච ඒ සිදුවීම කෙටියෙන් මේ විදිහට විස්තර කළා.

අම්මා හරි දහම හොය හොයා ඉන්නකොට තමයි වහරක අබේරත්න උපාසක මහත්තය ගැන ආරංචි වෙලා ඒ දහම් වැඩසටහන්වලට සම්බන්ධ වුණේ. ඒ බණ අහල බොහොම පැහැදිලා අම්මගෙ නමින් තිබුණ ඉඩම් කෑල්ලකුත් ඒ සාසනික කටයුතුවලට පූජා කරන්න ලෑස්ති වුණා. කොහොමහරි ළඟපාත තවත් පන්සලක් හැදෙයි කියල ගමේ පන්සලේ හාමුදුරුවො ඒකට විරුද්ධ වෙච්ච නිසා ඒ කටයුත්ත අත්හැරල දැම්මා. අම්මා මේ බණ දහම් අහල, ඒ කාලෙ නිතර ගිය ආරණ්‍යවල ඉන්න හාමුදුරුවරුන්ටත් මේ ගැන කියන්න ගියා. අම්මට ඕන වෙලා තිබුණා අනෙක් අයවත් මේ දහම් මගට යොමු කරන්න. ඒක කරන්න සෑහෙන්න උත්සාහ කළත් බැරි වෙච්ච නිසා තමන්ගෙ පාඩුවේ හිටියා.

කොහොම හරි 1996 පසළොස්වක පෝය දවසක අම්මා ගමේ පන්සලේ සිල් සමාදන් වෙන්න ගියා. පන්සලේදි අම්මට තරමක් අසනීප වෙලා උළුවස්ස අල්ලගෙන ඉඳල තියෙනවා. ඊට පස්සෙ සිල් දෙන්න වැඩිය පන්සලේ හාමුදුරුවො ඇහුවලු උපාසක අම්මට අසනීපද කියල. එහෙමයි හාමුදුරුවනේ කියල මට කොට්ටයක් දෙන්න පුළුවන්ද ඇහුවලු. උන් වහන්සේ ඒක දායකයෙක් අත එවන්නම් කියල කොට්ටයක් එව්වලු. ඊට පස්සෙ හාමුදුරුවො සිල් දීලා නැවත වඩිනකොට අම්ම ඒ හාමුදුරුවන්ට, ඔබ වහන්සේ නිවන් දකිත්වා කියල වැන්දලු. ඊට පස්සෙ සිල් ගන්න ආපු අනෙක් සිල් ඇත්තො එකතු වෙලා අම්මට පිරිත් කියල තියෙනවා. ඒත් එක්කම අම්මගෙ පණ ගියා. ඊට පස්සෙ එම්බාම් කරන්න මල් මල්ශාලාවට ගෙනිච්චම දේහයෙන් අමු ලේ ගිහින් තියෙනවා. ඉතින්



කෝරලගමගේ ලිලියට් උපාසිකා මාතාව

මල්ශාලාවෙ අයටත් පුදුම හිතුනලු. එතැන මගේ මහත්තයත් හිටියා. මගේ මහත්තය කතෝලික වුණත් අපේ අම්ම නිසා ඔහු හොඳ බෞද්ධයෙක් වුණා. එම්බාම් කරන කොට ඒ විදිහට ලේ යනවා මහත්තයත් දැකල තියෙනවා.

කොහොම හරි අම්මගෙ මළගෙදරට අබේරත්න උපාසක මහත්තයත් ඇවිත් විනාඩි පහළොවක් විතර සමාධිගත වෙලා දේහය දිහා බලාගෙන හිටියා. ඊට පස්සෙ අපෙන් ඇහුවා කොහොමද අවසන් කටයුතු කරන්නෙ කියල. අපි කිව්වා ඒ ළඟ තියෙන පොදු සුසාන භූමියක භූමදාන කරනව කියල. ඒ පාර අබේරත්න මහත්තය කිව්වා, පැගෙන්නෙ නැති උස් තැනක කරන්න කියල. නමුත් ඒ වෙනකොටත් වළ කපල තිබුණ නිසා සාමාන්‍ය තැනක තමයි භූමදාන කරන්න වුනේ. භූමදාන කරල මාසයකට විතර පස්සෙ අපේ පුංචි අම්ම කෙනෙක් ඒ සොහොන ළඟින් යනකොට මුළු සොහොනම දාස්පෙතියා මල්වලින් වැහිල තියෙනවා දැකල තිබුණා. අපි ඉතින් ඒ ගැන එච්චර උනන්දුවක් දැක්වුවෙ නෑ. අම්මා යම්කිසි මග ඵලයක ඉන්න ඇති කියල හිතුනත් එච්චර දෙයක් දන්නෙ නෑ. අපිට ඉතින් ඒ කාලෙ මේ දහම ගැන එච්චර උනන්දුවක් තිබුණෙත් නෑ. අනික් අය හිනා වෙලා දොස් කියල පව් කරගන්න පුළුවන් නිසා ඒ ගැන කාටවත් නොකියා ඉන්න අපි තීරණය කළා.

---

ඉතින් මේ සිදුවීම ගැන එදා අබේරත්න මහත්තය පොල්ගහවෙල ප්‍රදේශයේ තිබුණ දහම් වැඩසටහනකදිත් කියල තිබුණා, මේ දහම් වැඩසටහන්වලට සහභාගි වෙච්ච උපාසක අම්ම කෙනෙක් අවසන් මොහොතෙදි මාර්ගය පූර්ණ කළා කියල. ඒත් එක්කම ඒ පිරිස සාදුකාර දීල තියෙනවා. අබේරත්න උපාසක මහත්තයගෙන් තවත් අය ඒ ගැන ඇහුවම විස්තර කියල තිබුණා, යොමු කරල බැලුවත් උප්පත්තියක් ගත්ත තැනක් කොහේවත් නෑ කියල.

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව ගිහිවතක පටන් ළඟින් ඇසුරු කළ උපාසක මහත්තයෙක් මීට අවුරුදු 21 කට පෙර වෙච්ච ඒ වගේ තවත්සිදුවීමක් මේ විදිහට හෙළිදරව් කළා.

අලව්ව ප්‍රදේශයේ ජීවත් වෙච්ච මේ කියන උපාසක මහත්තය මගෙත් ඥාතියෙක්. හැබැයි හරි පණ්ඩිතයි. මොකද ලෝක සම්මතයේ තියෙන බණ දහම් එහෙම හොඳට දන්නවා. ඉතින් අබේරත්න උපාසක මහත්තය ගිහි කාලෙ කලගෙඩිහේන ප්‍රදේශයේ සාසනික කටයුතු කරන කොට ඔහුව මේ දහමට ගන්න මම අවුරුදු දෙකක් විතර උත්සාහ කළා. ඒ විදිහට අවුරුදු දෙකක් ගිහිල්ල තමයි වහරක අබේරත්න මහත්තය ළඟට යොමු කළේ. මම ඔහුත් එක්ක දහම් සාකච්ඡා කරල ආනාපානසතිය ගැන කියනකොට තමයි ඔහු අබේරත්න මහත්තයව මුණගැහෙන්න තීරණය කළේ. ඉතින් අබේරත්න මහත්තය ඔහු ගැන යොමු කරල බලනකොට ඔහු ගිය අත්බවෙත් ඒ ගමේම පන්සලක නායක හාමුදුරුවො නමක්. ඒ හාමුදුරුවො පාවිච්චි කළ ගිරය පවා තවමත් ඒ පන්සලේ පෙට්ටගමක තියෙනව කියල අබේරත්න මහත්තයා ඒ විස්තරත් කිව්වා. ගිහින් බලනකොට ඒ කතා ඔක්කොම හරි. කොහොමහරි ඔහු දවස් දෙකක් රෑ එළිවෙනකල් අබේරත්න මහත්තයගෙන් බණ අහල දහම් මග වඩාගත්තා. ඉඳල හිටල සිල් වැඩසටහන්වලටත් සහභාගි වුණා.

ඔහොම ඉන්නකොට හදිසියේ ලෙඩ වෙලා ඉස්පිරිතාලෙටත් ගෙනිහින් පහුවදාම මළා. පස්සෙ මමත් ගියා දේහය බාරදුන්න මල් මල්ශාලාවට බලන්න. මල් ශාලාවේ හිමිකරු මාත් එක්ක කෑන් එකක් පෙන්වල මෙහෙම කියනවා. මිනිය කපනකොට මේකෙන් අමු ලේ කෑන් හතරක් අයින් කළා. මට හිතාගන්නත් බෑ, මෙයා මැරිල නැත්ද කියලත් මට හිතුනා. මෙච්චර මිනී කපල මම මගේ ජීවිතේට අදමයි මෙහෙම ලේ ගිය අවස්ථාවක් දැක්කෙ. හරි පුදුමයි. මල්ශාලවෙන් එහෙම කිව්වම මම ගිහින් මේ ගැන වහරක අබේරත්න මහත්තයටත් කිව්වා. එතකොට අබේරත්න මහත්තය කිව්වා, ඔහු යම්කිසි මග ඵලයක හිටියෙ, ඒ වගේ අය මියගියත් දේහය කපනකොට අමු ලේ එනවා, ලේ ගල් වෙන්නෙ නෑ කියල.

කොහොමහරි එයින් මාස තුනකට පස්සෙ ඒ මියගිය අයගෙ පවුලෙ අය තමන්ගෙ තාත්තා ගැන බලන්න ආවා. දානෙත් පූජා කරල අබේරත්න මහත්තය පින් අනුමෝදනාව කරල යොමු කරල බලල කිව්වා, දැන් මල් තුනක් අතේ තියාගෙන ඉන්නවා, නැවත මහපොළොවට, මනුස්ස ලෝකයට සම්බන්ධයක් නෑ, ඉහළ තලයක උප්පත්තිය ලබල කියල. අර මල් තුනෙන් පෙන්නුවෙ අනිච්ච දුක්ඛ අනත්ත කියල, ඒ ලෝකයෙදිම සසර ගමන කෙළවර කරනවා කියලත් කිව්වා. ඒ නිසා මීට පස්සෙ ඔහු සම්බන්ධයෙන් අමුතුවෙන් පින්කම් නොකළ කියල ප්‍රශ්නයක් නෑ කියලත් කිව්වා.

ඒ ආර් මවුලිස් කියන මේ උපාසක මහත්තයගෙ පුතා තමන්ගෙ පියා ගැන මතකය මේ විදිහට ආවර්ජනය කළා.

තාත්තා හදිසියේ නැති වෙන කොට වයස අවුරුදු පනස් එකයි. අබේරත්න උපාසක මහත්තය මුනගැහෙන්න කලින් තාත්තා ලෞකික වශයෙන් හොඳ ආදර්ශමත් දැහැමි ජීවිතයක් ගත කළා. බණ කතා, ජාතක කතා ඔය වගේ දේවල් කිය කියා හිටියා. ඊට පස්සෙ අබේරත්න උපාසක මහත්තය මුනගැහුනට පස්සෙ තාත්තා සම්පූර්ණයෙන්ම වෙනස් වුණා. එතැනදි තමයි තාත්තාට හරි දහම් මග ලැබුනෙ. ඊට පස්සෙ තාත්තා නිතරම භාවනා කරන්න ගත්තා. ඒකෙන් හුඟක් වෙනස් වුනා. කොයි වෙලාවෙ බැලුවත් ගෙදර කොහේ හරි තැනකට වෙලා භාවනා කරනවා. ඒ භාවනාවෙන් තාත්තා යම් කිසි තැනකට ආවා. මොකද වෙනදට වඩා ගොඩක් තැන්පත් වුණා. විශේෂ වෙනසක් දකින්න ලැබුණා. අබේරත්න මහත්තය මුණ ගැහිල දහම් මග තෝරගත්තට



පස්සෙ තාත්තා තමන්ට ලැබිච්ච දහම ගැන අත්අකුරින්ම පුංචි පොතකුත් ලිව්වා. ඒ පොත තවම තියෙනවා. ඒ පොතට අනුව පටිච්ච සමුප්පාදයෙන් තමයි තාත්තා හරි දහම තෝරගෙන තියෙන්නෙ. තාත්තා ගත්ත හරය තමයි ඒ පොතේ ලියල තියෙන්නෙ. තාත්තා නැති වුණාට පස්සෙ අපි අබේරත්න උපාසක මහත්තයගෙන් විස්තර ඇහුවා. එතකොට කිව්වා, හොඳ උප්පත්තියක ඉන්නවා, එතැනින් ඉහළටම ගිහින් සසර ගමන කෙළවර කරනවා නැවත මනුස්ස ලෝකයට එන්නෙ නෑ කියල.

---

ඒ වගේම වහරක හාමුදුරුවන්ගෙන් බණ දහම් අහන්න සම්බන්ධවෙලා උන්වහන්සේට ඇප උපස්ථාන කරපු උපාසක මහත්තයෙක් ගැන තරමක් මෑත කාලයේ සිද්ධ වෙච්ච තවත් විශේෂ සිදු වීමක් තියෙනවා. ඒ තමයි වහරක හාමුදුරුවන්ට මීට අවුරුදු 10 කට පමණ පෙර ඇප උපස්ථාන කරපු කඩවත ප්‍රදේශයේ වාසය කළ මේධානන්ද ආරියවංශ දිසානායක කියන උපාසක මහත්තයගෙ සිද්ධිය. ඔහු ජීවත් වෙච්ච කාලයේ බොහොම සරල ජීවිතයක් ගත කරපු කෙනෙක්. හැම පැත්තකින්ම හොඳ ගති ලක්ෂණ තිබුණෙ. වහරක හාමුදුරුවන්ගෙන් බණ අහන්න ඇවිත් තමයි අන්තිමට පන්සලේ නතර වෙලා හාමුදුරුවන්ගේ ප්‍රධාන උපස්ථායක විදිහට ඒ කටයුතු සිද්ධ කළේ. අපි දන්න තරමට කවදාවත් කාගෙවත් හිත රිදෙන විදිහට වචනයක්වත් කතා කළ කෙනෙක් නෙවෙයි. ඒ තරම්ම අහිංසකයි. දහම් සාකච්ඡාවලට වැඩිය භික්ෂූන් වහන්සේලා පවා ඒ කාරණය කියනවා. ඒ වගේම හොඳ අවබෝධයක් තිබිච්ච කෙනෙක්. වහරක හාමුදුරුවො බොහොම තදබල විදිහට අසනීප වෙලා 2008- 2009 වගේ කාලයේ රෝහල්ගත වෙලා හිටියෙ. ඒ කාලෙ උන්වහන්සේට රෝද පුටුවෙත් ඉන්න වුණා. ඒ දවස්වල දිසානායක උපාසක මහත්තයත් රෝහලේම නැවතිලා උපස්ථාන කළා. දවසක් මාත් එක්ක බොහොම ගෞරවයෙන් ශ්‍රද්ධාවෙන් කිව්වා, හාමුදුරුවො රෝද පුටුවෙ ඉන්නකොට තමන්ට උන් වහන්සේව සුද්ද පවිත්‍ර කරල ඇප උපස්ථාන කරන්න අවස්ථාව ලැබුන කියල.

ඒ වගේම මේ සසර ගමන කෙළවර කර ගන්නත් ඔහුට බොහොම උනන්දුවක් තිබුණ බව දවසක් පුද්ගලිකව කතාබහ කරද්දි තේරුණා. මම ලොකු හාමුදුරුවන්ගෙන් ඇහුවා, හාමුදුරුවනේ අපිටත් ඉතින් මේ භව ගමනින් නිදහස් වෙන්න පුළුවන්ද, කොහොමද ඒකට එහෙම අවස්ථාව තියෙනවද කියල, ඕව් මහත්තය බයවෙන්න එපා කරගන්න පුළුවන් කියල වහරක හාමුදුරුවො කිව්ව කියලත් දවසක් කිව්වා.

කොහොම හරි දිසානායක උපාසක මහත්තය 2009/ 2010 වගේ කාලයේ ක්‍රමයෙන් අසනීප වෙන්න ගත්තා. ඒ වෙලාවෙ වහරක හාමුදුරුවොත් පුළුවන් තරම් බෙහෙත් ප්‍රතිකර්ම ආදියත් කළා. ඒකට හේතු වෙච්ච කර්ම වේගයත් යොමු කරල බලල තිබුණා. රෝහල් කිහිපයකම නැවතිලා ප්‍රතිකාරත් ගත්තා. ඊත් අන්තිමට තදබල විදිහට ගෙදර ඉඳෙද්දිම අසනීප වෙලා තිබුණා. ගෙදර අය රෝහල්ගත කරන්න හැදුවම එපා කියලත් තිබුනා. ඊත් ගෙදර උදවිය අසල්වැසි පිරිස එක්ක එකතු වෙලා රජයේ රෝහලකට ඇතුලත් කරල තිබුනා. රෝහලේ ඉඳෙද්දි ළඟ නතර වෙලා බලාගන්න හිටපු හිතවතාට දිසානායක මහත්තයා කියල තියෙනවා, පන්සල් යන්න ඕන, සුදු මල් ඕන, ඔබත් ලෑස්ති වෙන්න, සුදු ඇඳුමක් ඕන, සුදු ඇඳුමක් නැත්නම් මගේ ඇඳුම් මල්ලෙ තියෙනවා ඒකෙන් ගන්න කියල. ඒ වචන ටික කිව්වට පස්සෙ තමයි පණ ගිහින් තියෙන්නෙ. එදා එතුමාගේ දේහය ගෙදරට ගෙනාවට පස්සෙ අපිත් වහරක හාමුදුරුවො එක්ක ඒ මළ ගෙදරට ගියා. හාමුදුරුවො දිසානායක උපාසක මහත්තයගෙ දේහය දිහා සමාධි ගත වෙලා විනාඩි පහක් විතර බලාගෙන හිටියා.

ඊට පස්සෙ මරණෙ කටයුතු අවසන් කරල දවස් කිහිපයකට පස්සෙ සමහර භික්ෂූන් වහන්සේලා සහ ගිහි පින්වතුන් ඒ ගැන අහනකොට වහරක හාමුදුරුවො පුද්ගලිකව ඒ ගැන විස්තර කිව්වා. දිසානායක මහත්තයගෙ පණ යනවත් එක්කම ඔහුට තේරුනාලු තමන් මැරුණ කියල. ආ... දැන් ඉතින් මොනව කරන්නද! හරි වැඩේ නේ! දැන් ඉතින් වැඩක් නැනෙ! කරන්න දෙයක් නෑ, වහරක හරි යන්න ඕන, වහරක පන්සල බලා හදාගෙන ආරක්ෂා කරගෙන පින් අනුමෝදන් වෙලා එතැන හරි ඉන්න ඕන කියල හිතාගෙන සූක්ෂම මනුස්ස කයින්ම වහරක පන්සලට ආව කියනවා. එතකොට වහරක හාමුදුරුවො පුටුවෙ ඉඳගෙන ඉන්නවා. දිසානායක මහත්තය ටිකක් ඈතින් ඉඳගෙන වහරක හාමුදුරුවො දිහා බලාගෙන හාමුදුරුවන්ට වැඳල යන්න ගියාලු. උන්වහන්සේට සමාධියට ඒ ඔක්කොම පෙනිල තිබුණා.

එහෙම වැඳල ගියාට පස්සෙ අතර මගදි සුමන සමන් දෙවියො මුණ ගැහෙනවා. මගඵල ලාභී දෙවි කෙනෙක් නිසා ඒ ජාතියේ බණ දහම් අහපු කෙනෙක් මුණ ගැහිල කතා කිරීම අමුතු දෙයක් නෙවෙයි. ඉතින් සුමන සමන් දෙවියො, දිසානායක මහත්තයගෙන් කොහෙද යන්නෙ කියල ඇහුවම, වහරක යනවා, පන්සල බලා හදාගෙන ඉන්නවා, වෙන මොනවා කරන්නද කියල කිව්වලු. එතකොට සුමන සමන් දෙවියො මෙහෙම කිව්වලු. හාමුදුරුවො මෙච්චර කාලයක් ඕකද කිව්වෙ? කොහේ යන්නද? මේවා බලා හදාගෙන රකින්න වෙනම පිරිසක් ඉන්නවා. ඒකට මහන්සි වෙන්න ඕන නෑ. ඒක රකින්නද තමන්ගෙ වැඩේ කරගන්නද හාමුදුරුවො කියල තියෙන්නෙ?

සුමන සමන් දෙවියො ඔන්න ඔය පණිවිඩය දැනුම් දෙනවත් එක්කම දිසානායක මහත්තයට අදහසක් ආවලු, ඇත්ත නේන්නම් මේවා ඉතින් බලා හදාගෙන ඉඳල වැඩක් නැනෙ, ඒවා බලාගන්න අය ඉන්නවනම් මම මොකටද ඉන්නෙ මට වැඩක් නෑ කියල. ඊත් එක්කම තමයි කාම ලෝකය අත්හැරිල අනාගාමී වුණා කියන්නෙ. ඒ කියන්නෙ චුති පටිසන්ධි වෙලා සුද්ධාවාස බඹ ලොව ඉපදුනා කියනවා. ඊට පස්සෙ බ්‍රහ්මයෙක් විදිහට වහරක හාමුදුරුවො පවත්වපු සෙත් ආශිර්වාද බුද්ධ පූජාවකටත් සම්බන්ධ වෙලා තියෙනවා. වහරක හාමුදුරුවො ඒ ළඟම පසළොස්වක පෝය දවසක පින් අනුමෝදන් කරන කොට දිසානායක මහත්තයගෙත් නම කියල පින් අනුමෝදන් කළා. එතකොට සමාධියෙන්ම "අපවත් වී වදාළ දිසානායක මහත්තය... " කියල තමයි කියවුනේ. අපවත් වුණා කියන්නෙ තවදුරටත් පවත් වන්නෙ නෑ කියන එක. ඒක පිරිනිවන් පෑමටත් කියන වචනයක්. මොකද නැවත සසර ගමන පවත්වන්නෙ නෑ. හැබැයි මෙතැන ඒ අදහසින් නෙවෙයි කියවිලා තියෙන්නෙ. කාම ලෝකයේ නැවත පවත්වන්නෙ නෑ කියන එකයි ඒ විදිහට කියවුනේ.

---

වහරක හාමුදුරුවො පැවිදි වෙන්න පෙර සිද්ධ වෙච්ච තවත් මේ වගේ සිදුවීමක් තියෙනවා. ඒ කතාව උන්



වහන්සේව ගිහි කාලයේ පටන් ඇසුරු කළ තවත් භික්ෂූන් වහන්සේ නමක් මේ විදිහට හෙළිදරව් කළා.

ඒ දවස්වල මල්ලක් අරගෙන තැන් තැන්වල ඇවිදපු උපාසක මහත්තයෙක් හිටියා. ඔහු බණ දහම් හොයාගෙන තැන් තැන්වල යනකොට කවුරු හරි කෙනෙක් වහරක අබේරත්න උපාසක මහත්තය ගැන කියල තිබුණා. අබේරත්න මහත්තයත් ඔහු ගැන ආරංචි වෙලා කලින් කතා වෙලා තිබුණා. මාත් එක්කත් ඒ ගැන කියල තියෙනවා. කොහොම හරි මේ උපාසක මහත්තය වතාවක් හෝ දෙකක් අබේරත්න මහත්තය හමු වෙන්න එනකොට මටත් මුණගැහුණා. අබේරත්න මහත්තයත් එක්ක ටික වෙලාවක් දහම් සාකච්ඡා කළාම මේ උපාසක මහත්තය අබේරත්න මහත්තය ගැන හොඳටම පැහැදුනා.

පස්සෙ ඔහු මේ දහම් මග පූර්ණ කරගන්න, අද රටේ වෙහෙර විහාරස්ථානවල තියෙන පරිසරය ගැලපෙන්නෙ නෑ, අමාරුයි කියල කිව්වා. ඒ නිසා මේ මග වඩන අයට ආරාමයක් හදන්න ඕන කියන අදහස ගත්තා. ඒ අදහස අබේරත්න මහත්තයටත් කිව්වා. ඒ නිසා විවේකීව නිදහසේ ඉඳගෙන බාහිර කටයුතුවලින් ඈත් වෙලා වත්පිළිවෙත් අනුගමනය කරන්න පුළුවන් තැනක් අවශ්‍යයි කියන කාරණය තීරණය කරල කිව්වා, ගෙදරට පොඩ්ඩක් එහායින් මගේ ඉඩම් කෑල්ලක් තියෙනවා, ඒකෙ ආරාමයක් හදමු කියල. එතකොට අබේරත්න මහත්තයත් හා හොඳයි කිව්වා. හැබැයි ඔහු ඒක අබේරත්න මහත්තයට පූජා කරන්න තමයි සැලසුම් කළේ. නමුත් අබේරත්න මහත්තය, මට ඕව කරන්න හදන්න බෑ මම ගිහි කෙනෙක්, ඕවට කලබල වෙන්න ඕන නෑ කියල ඉඩමේ තොරතුරු ඇහුවම විස්තර කිව්වා. ඒක වෙනම තියෙන ඉඩමක්, ළමයින්ට වෙනම ඉඩම් ලියල දීල තියෙන නිසා මේක නිදහසේ කුටියක්/ ආරාමයක් හදන්න පුළුවන් ඉඩමක් කිව්වා. එතකොට අබේරත්න මහත්තය කිව්වා, මහත්තයගෙ එහෙම අදහසක් තියෙනවනම් ඉස්සෙල්ලම කුටියක් හදන්න කියල. නමුත් ඔහුට අවශ්‍ය වුණේ ඔප්පුවකින් ලියල ආරාමයක් හදල පූජා කරන්න. ඒත් අබේරත්න මහත්තය කිව්වා, මම ගිහි කෙනෙක් නිසා මට ඒක බාර ගන්න විදිහක් නෑ, ඒ නිසා මහා සංඝරත්නය වෙනුවෙන් කියන අදහසින් කුටියක් හදන්න පස්සෙ පූජා කරමු කියල.



දිසානායක උපාසක මහතා

අබේරත්න මහත්තය ඒ විදිහට උපදෙස් දුන්නම, උපාසක මහත්තයත් සන්තෝසෙන් ගිහින් ඉඩමේ කුටියක් හදන්න පටන් ගත්තා. ඒ අතර වරින් වර ඇවිත් අබේරත්න මහත්තයත් එක්කත් හැමෝමත් එක්කත් ඒ විස්තර සතුටින් කියනවා. ඒ අතර ඒ ඉඩමේ ආරාමයකට අවශ්‍ය පරිසරය හදන්න පැළ පවා ඔහුගේ වියදමින් ගෙනත් හිටෙව්වා. ඊට පස්සෙ ඒකට අවශ්‍ය වැසිකිලියක් එහෙම හදල, මිදුල හදල, පාරවල් හදල වතුර ගන්නත් අනුමත කරල තිබුණා. අන්තිමට කුටියෙ වැඩ ඉවර වෙනකොට කලින් ඉඩමේ තිබිච්ච දෙහි ගස් පවා පීදිලා ඒවත් එල දරල තිබුණා.

දවසක් මේ උපාසක මහත්තය ඇවිත් අබේරත්න මහත්තයගෙන් අහනවා, මේ ගස්වල දෙහි එහෙම තියෙනවා, නිකං වැටිල අපතෙ යනවා, මොකද කරන්නෙ කියල. බලනකොට මේ උපාසක මහත්තයගෙ ගෙදරට දෙහි ඕන වුනාම ඔහු මොකද කරන්නෙ, ඒ ආරාමයේ ගස්වල තියෙන දෙහි කඩල වෙළඳපොලේ දෙහි ගෙඩියක මිලටත් වඩා වැඩි මුදලකට තමන්ම මිලදී අරගෙන ඒ මුදල් වෙනම එකතු කරනවා. ඒ කාලෙ දෙහි ගෙඩියක් සත 25 ක් විතර ඇති. නමුත් ඔහු ඒ වෙනුවෙන් රුපියලක් වගේ වැඩි මුදලක් යොදවල තිබුණා. දැන් මේ ක්‍රමවේදය හරිද වැරදිද කියල අබේරත්න මහත්තයගෙන් ඇහුවා. අබේරත්න මහත්තය කියනවා, ඕකට වැඩිය සල්ලි දාන්න ඕන නෑ, දැන් අද දෙහි ගෙඩියක් කීයක් විතර වෙනවද, ඒ අද පවතින මිල ගණන් අහල ඔය පිං කැටයක් හරි මොකක් හරි එකකට ඒ මුදල් දාල එකතු වුණාම ආරාමෙ මොකක් හරි වැඩකට යොදාගන්න කියල. ඉතින් ඔහු ඒ විදිහට එකතු කරපු මුදල් ආරාමෙ කොහේ හරි තැනක තියල තිබුණා. අබේරත්න මහත්තය ඒකෙ කිසි වැරැද්දක් නෑ කියල, රටේ පවතින මිල ගණන්වලටම මුදල් දැම්මම ප්‍රමාණවත් කිව්වා. නමුත් තවමත් ඉඩම තියෙන්නෙ ඔහුගෙ නමින්. ලියකියවිලිවලින් පූජා කරලත් නෑ. ඒත් ඒ ඉඩමේ ඒ විදිහට හැදිච්ච දෙහි ගෙඩිය පවා අරවිදිහට සුද්ධ ඇතිව තමයි ඔහු පරිහරණය කළේ.

ඉතිං කොහොම හරි කුටියෙ වැඩ කටයුතු ඉවර වුනාට පස්සෙ නැවතත් අබේරත්න මහත්තයට ඇවිත් කිව්වා, දැන් කුටියෙ වැඩ ඉවරයි පූජා කරන්න ඕන කියල. එතකොට අබේරත්න මහත්තය හිනා වෙලා අහනවා, දැන් ඔය මහත්තයගෙ බලාපොරොත්තුව මොකක්ද, සසුනට පූජා කරන්න නේද කියල. ඔව් දැන් වැඩ ටික ඉවරයි, විදුලිය ගන්න විතරයි තියෙන්නෙ කිව්වා. එතකොට අබේරත්න මහත්තය මෙහෙම කියනවා. දැන් ඕක පූජා කළත් නොකළත් පූජා වෙලා ඉවරයි. ඔබේ කටයුත්ත දැන් සම්පූර්ණයි. ඔප්පු ලියනවනම් ඒක පස්සෙ කළාට කමක් නෑ. නමුත් ලිව්වත් නැතත් දැන් ඕක බුද්ධ සාසනයට පූජා වෙලා ඉවරයි. හැබැයි දැන් මේක අනෙක් අයට පරිහරණය කරන්න අයිතියක් නෑ, මීට පස්සෙ මහා සංඝරත්නය වෙනුවෙන් වෙන්වෙන්නම ඕන. ඒ නිසා ළමයෙකුටවත් පාවිච්චි කරන්න ගැලපෙන්නෙ නෑ. අබේරත්න මහත්තය මෙහෙම කිව්වම, උපාසක මහත්තය කියනවා, ඔව් ඒත් අපි දන්නෙ නැතිව ළමයෙක් හරි ගන්න පුළුවන්නෙ, ඒ නිසා ඉක්මනට ඔප්පුවක් ලියන්න ඕන කියල. අබේරත්න මහත්තයත් කිව්වා, කමක් නෑ සම්මතයක් තියෙනවනෙ ඔප්පුවකින් පූජා කරන්න කියල, නැත්නම් පසුකාලීනව ළමයි වුණත් අයිතිවාසිකම් කියල ප්‍රශ්න මතු වෙන්න පුළුවන් නිසා එහෙම කරන්න කියල.

ඉතින් කුටියෙ වැඩ ඉවර වුනත් ඒ ස්ථානයට දැන් භික්ෂූන් වහන්සේ නමක් නෑ. ඒ අතර ඒ කිට්ටුව යම්කිසි සමිති සමාගම්වල දායකයෙක් වෙලා

හිටපු, පන්සල්වලටත් උදව් උපකාර කරපු උපාසක මහත්තයෙක් මහණ වෙලා හිටියා. ඒ නිසා ඒ ගැන කියල අබේරත්න මහත්තයගෙන් උපදෙස් ගන්න ආවා. මොකද ඒ හාමුදුරුවොත් ඒ වෙනකොට තැන් තැන්වල තමයි වැඩ හිටියෙ. ස්ථිර තැනක් තිබුනෙත් නෑ. භාවනා කරන භික්ෂුන් වහන්සේ නමක්. අල්ලපු ගමේ. අබේරත්න මහත්තයත් කිව්වා, ආ... ඒකට කමක් නෑ මේ සසුන් මග පූර්ණ කරන භික්ෂුන් වහන්සේ නමක් නේ, උන්වහන්සේව වඩම්මවගෙන ඔබට පුළුවන් විදිහට ඇප උපස්ථාන කරන්න කියල. ඊට පස්සෙ උන් වහන්සේව නතර කර ගෙන ඇප උපස්ථාන කරගෙන හිටියා.

ඔය අතර මේ උපාසක මහත්තය හදිසියේම නැති වෙනවා, අන්තරා වෙනවා. එතකොට අබේරත්න මහත්තය යොමු කරල බලනවා මොකක්ද වුනේ කියල. බලනකොට පේනවා, ඒ ආරාමය ළඟ තිබ්බ්ච කොස් ගහක් ළඟින් සූක්ෂම මනෝකාය කැරකි කැරකී ඉහළට ඇදිල ගිහින් අන්තිමට සුද්ධාවාස බඹ තලයක උප්පත්තිය ලබනවා. ඒ වෙද්දි ඔහු අනාගාමී වෙලාලු ඉඳල තියෙන්නෙ.

දැන් ඊට පස්සෙ අර කුටියෙ නැවතිලා හිටපු භික්ෂුන් වහන්සේත් වරින් වර අබේරත්න උපාසක මහත්තය ළඟට බණ අහන්න, දහම් සාකච්ඡා කරන්න එනවා. උන්වහන්සේ හුගක් ඈත තියෙන ඒ කුටියේ ඉඳගෙනම තමයි අබේරත්න මහත්තය මුණගැහෙන්න පොල්ගහවෙලට වැඩියෙ. ඔහොම කාලයක් යනකොට මේ හාමුදුරුවන්ට ඒ මියගිය උපාසක මහත්තයගෙ ගෙදර ළමයින්ගෙන් වෙනස්කම් එන්න පටන් ගත්තා. මේ කාලය වෙනකොට අබේරත්න උපාසක මහත්තයත් වහරක අභයරතනාලංකාර හාමුදුරුවො නමින් මහණ වෙලා හිටියෙ. ඉතින් ඒ හාමුදුරුවො ඇවිත් වහරක හාමුදුරුවන්ට ඒ ගැනත් විස්තර කිව්වා. එතකොට වහරක හාමුදුරුවො කිව්වා, ඔබ වහන්සේට ඒ ස්ථානයේ කරදර බාධක නම්, ඔබ වහන්සේ කලින් වැඩ හිටිය තැන හොඳයිනේ, එතැනටම යන්න කියල. ඒ පාර ඒ හාමුදුරුවොත් ගිහි කාලයේ හිටපු ගෙදර ළඟ තාවකාලිකව හදල තිබ්බ්ච ඒ කුටියටම වැඩියා.

දැන් ඉතින් අර කුටිය හදපු ඉඩමෙ කවුරුවත් නෑ. ඒක ඔප්පුවකින් පූජා කරන්නත් කලින් තමයි ඒ උපාසක මහත්තය නැති වුනේ. දැන් මේ ගෙදර ළමයි මොකද කළේ, තාත්තා දෙහි කඩපු හැටිවත්, ආරාමයේ වැඩ කරපු හැටිවත් මොකවත් දන්නෙ නෑ, අර දෙහි ටික නිකම්ම කඩා ගත්තා. කොස් ගස් ටිකක් තිබිල ඒකත් කැපුවා. මොකද තවම මේ ඉඩම ඔප්පුවකින් පූජා කරලත් නෑ. ඒ නිසා කට්ටියම එකතු වෙලා ඉඩම පරිහරණය කරන්න පටන් ගත්තා. දැන් මේ උපාසක මහත්තයගෙ නෝනයි, ළමයි සියලු දෙනාම ඉඩම භුක්ති විඳිනවා. සාසනික දෙයක් තමයි ඒ විදිහට භුක්ති විඳින්නෙ, නැති නාස්ති කරන්නෙ.

ඔහොම ඉන්න කොට මේ ගෙදර අයට ටික ටික කරදර එන්න පටන් ගත්තා. හීනෙන් බයවෙලා කෑ ගහන්න ගත්තා. රණ්ඩු සරුවල් වෙන්න ගත්තා. එක එක ජාතියේ කරදර. ඊට පස්සෙ මේ අය දේවාල ගානෙ ගිහින් සාස්තර අහනවා. මැරිච්ච තාත්තා ඇවිත් කරදර කරනව කියල තමයි ඒ තැන්වලින් කියන්නෙ. බලනකොට මේ අයට හීනෙන් කරදර කරනවා පේන්නෙත් අර මියගිය තාත්තමයි. කොහොමහරි අර කුටියෙ භාවනා කර කර හිටපු හාමුදුරුවො මේ අයට මුනගැහිච්ච වෙලාවක කිව්වා, තාත්තා අනාගාමී වෙලා හිටියෙ ඔය අයට කරදර කරන්න එන්නෙ නෑ, ඒ නිසා ඔය අය දේවාල ගානෙ ගිහින් පූජා වට්ටි තියන්නවත්, කුකුල්ලු ගෙනත් කපන්න කොටන්නවත්, භාරහාර වෙන්නවත් ඒවා කරන්න එපා, ගැලපෙන්නෙ නෑ මේක ආරාමයක් කියල. වරින් වර මුණගැහුණම උන්වහන්සේ ඒ ගෙදර අයට එහෙම කියනවා. මේ අය ඒක වැරදි විදිහට පරිහරණය කරන්න ගත්ත නිසා තමයි උන්වහන්සේත් එතැන අත්හැරල දාල ගියේ.

ඉතින් මේ අය එතැන තොවිල් නට නටා එක එක ජාතියේ දේවල් කරනකොට උන්වහන්සේ කියනවා, ඕවා කළාට වැඩක් නෑ, ඒ උපාසක මහත්තය අනාගාමී වෙච්ච කෙනෙක්, එයාගෙන් කරදර එන්නෙ නෑ, ඔය අය සාසනික දේවල් විනාස කරන නිසා තමයි ඔය ප්‍රශ්න එන්නෙ කියල. හැබැයි එහෙම කිව්වට ඒ අය ඒක පිළිගත්තෙ නෑ. උන්වහන්සේ එහෙම කියන්න කියන්න මේ අය මොකද කළේ, මොන අනාගාමී කමක්ද, අනාගාමී වෙච්ච එවුන් ඔහොම ඇවිත් කරදර කරනවද කියල තව තවත් බනින්න ගත්තා. දැන් එන්න එන්නම තාත්තා මේ අයට පේන්නම ඇවිත් කරදර කරනවලු. ඒ අයට පේන විදිහයි දේවාලවලින් කියන විදිහයි තමයි ඒ. ඒ විදිහට කරදර කරන්නෙ තමන්ගෙ මියගිය තාත්තමයි කියල තමයි ඒ අය පිළිගත්තෙ.

ඔහොම ඉන්නකොට ඒ අයගෙ දින වකවානුවලට පින්කම් යෙදෙන ඒවත් කරනවා. ඉතින් දවසක් අර හාමුදුරුවො මේ ගෙදර අයව වහරක පන්සලටත් සම්බන්ධ කරල වහරක හාමුදුරුවොත් මුණ ගැස්සෙව්වා. වහරක පන්සලේ ඒ කාලෙ කුස්සියක් තිබුණෙ නෑ. ඉතින් වහරක හාමුදුරුවො කරුණු පැහැදිලි කරල දීල කිව්වලු, තාත්තට පින් සිද්ධ වෙන්න ඔය කුස්සියට ටකරන් කැල්ලක් දෙකක් ගෙනත් දාන්න කියල. එතකොට ඒ ළමයි මුළු කුස්සියම හදල දෙන්නම් කියල බාර ගත්තලු. ඒත් වහරක හාමුදුරුවො කිව්වලු, කුස්සිය සම්පූර්ණයෙන්ම හදන්න මහන්සි වෙන්න ඕන නෑ, ඔය අයට පුළුවන් කොටසක් කරල පින් අනුමෝදන් කරන්න කියල. නමුත් මේ අය සම්පූර්ණයෙන්ම හදල දෙන්නම් කියල බාර අරගෙන ඒ මොකුත්ම කළේ නෑ. ඒ නිසා ඒ අයට තව තවත් කරදර වැඩි වෙන්න ගත්තා. ඔය විදිහට ඉන්නකොට මේ අය තවත් සැරයක් වහරක හාමුදුරුවො මුණ ගැහෙන්න ආවා. ඒ අවස්ථාවෙත් උන්වහන්සේ කිව්වා, කුස්සිය හැදුවෙ නැති වුණාට කමක් නෑ, එක ටකරන් කැල්ලක් හරි ගෙනත් දාල පින් අනුමෝදන් කරන්න කියල. මේ අය ඒක කළෙත් නෑ. එන්න එන්න කරදරත් වැඩි වුණා. වහරක හාමුදුරුවො ඒ ගැන අපිත් එක්කත් කතා කළා.

මියගිය තාත්තා නෙවෙයි මේ කරදර කරන්නෙ. තාත්තා බණ දහම් අහල අනුගමනය කරල අනාගාමී වෙලා හිටපු කෙනෙක්. ජීවත් වෙලා ඉඳෙද්දි සාසනික කටයුතු කරල ලෝක සත්ත්වයින්ටත් පින් අනුමෝදන් කරපු කෙනෙක්. ඔය කුටිය තියෙන ඉඩමේ ඒ පින් අනුමෝදන් වෙච්ච අමනුස්ස පිරිසකුත් ඉන්නවා. මේ සාසනික දේ නැති හංග කරන නිසා, මේ අයට ඒ කාරණය කියන්න ක්‍රමයක් නැති නිසා, ඒ අමනුස්සයො තාත්තගෙ වේශයෙන් පෙනී ඉඳල තමයි ඔය විදිහට කරදර කරන්නෙ. දේවාලවලින් කිව්වට ඒ අයට ඒ කාරණය සුද්ධ ඇතිව පේන්නෙ නෑ. ඒ අයට පේන්නෙ තාත්තාම ඇවිත් කරදර කරනවා කියල. නමුත් ඒ අමනුස්ස පිරිස මේ ළමයි කරන සාසනික දේපල විනාසය නතර කරන්න තමයි අර විදිහට කරදර කරන්නෙ. එහෙම නැතුව 

මේ අයට හානියක් කරන්න නෙවෙයි. ඉතින් ඒ අමනුස්ස පිරිසට වුණත් ඒක එච්චර තේරෙන්නෙ නෑ, තාත්තගේ වේශයෙන් පෙනී ඉන්න කොට ඒ ගෙදර අය තවත් පව් පුරව ගන්නව කියල. ඒ අමනුස්සයන්ගෙන් එන කරදර බාධක තමයි මේ ගෙදර අයට තියෙන්නෙ. අන්න ඒක නැති කරන්න තමයි මම අර විදිහට ටකරන් කැල්ලක් හරි ගෙනත් දාල පින් අනුමෝදන් කරන්න කිව්වෙ... ඔය විදිහට වහරක හාමුදුරුවො මේ ගැන හොඳ ධර්මානුකූල පැහැදිලි කිරීමක් කළා.

කොහොම හරි පසුගිය කාලය වෙනකොට ඒ ගෙදර අයට හිතන්න බැරි තරම් ප්‍රශ්න ඇති වුණා කියනවා. රණ්ඩු වෙනවා, ගහ මරාගන්නවා. හැබැයි ඒ අර මියගිය තාත්තා නිසා නෙවෙයි. තාත්තා කරගෙන ගිය සාසනික වැඩපිළිවෙළට බාධා කළ නිසා, සාසනික දේ නැති නාස්ති කළ නිසා, එතැන හිටපු පින් අනුමෝදන් වෙච්ච අමනුස්ස පිරිස කරපු වැඩක්. කොහොම හරි ඉතිං ඊට පස්සෙ අපිට ඒ ගැන තොරතුරු දැනගන්න ලැබුනෙ නෑ.

---

මීට අවුරුදු 15 කට පමණ පෙර මේ පූජා, භාවනා, ධර්ම සාකච්ඡා ආදී වැඩසටහන්වලට සහභාගි වෙච්ච පොල්ගහවෙල ප්‍රදේශයේ හිටපු ජේමවතී කියන උපාසක අම්ම කෙනෙක් මරණින් මතු දේව අත්බැවක උප්පත්තිය ලබපු කතාවකුත් තියෙනවා. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව ගිහි කාලයේ පටන් ළඟින් ඇසුරු කළ භාවනායෝගී භික්ෂූන් වහන්සේ නමක් ඒ කතාව මේ විදිහට හෙළිදරව් කළා.

ඒ කාලෙ අබේරත්න උපාසක මහත්තය ආශිර්වාද සෙත් පූජා පවත්වන පූජනීය ස්ථානයට අපි හුගක් දුර බැහැර ඉඳල බොහොම අමාරුවෙන් තමයි කාලය සහ මිල මුදල් වියපැහැදම් කර ගෙන එන්නෙ. දවසක් අපි ඒ ස්ථානයට යනකොට අතරමගදි ආරංචි වුණා, ඒ පූජනීය ස්ථානය ළඟම මළගෙයක් වෙලා කියල. ඉතින් අපිටත් දුක හිතුනා, ඒ නිසා අද සෙත් පූජාව තියන්නෙ නැති වෙයි කියල. ඒත් ඉතින් කමක් නෑ කොහොමත් ආපු එකනේ කියල යනකොට, ආපසු හැරිල යන පින්වතුනුත් අපිට මුණ ගැහුනා. සෑහෙන්න දුර බැහැර ඉඳන් ආපු පිරිස් පවා පූජාව තියන්නෙ නැති වෙයි කියල හිතාගෙන ආපසු හැරිල





මුදියන්සේලාගේ ජේමාවතී උපාසිකා මාතාව

යන්න ගියා. අපි ඒ ස්ථානයට ගිහින්, ඇවිත් හිටපු අනෙක් පිරිසත් එක්කත් කතා වුණා. හැමෝගෙම අදහස වුණේ එදා ආශිර්වාද සෙත් පූජාව තියන්නෙ නැතිවෙයි කියල.

ඔහොම ටික වෙලාවක් ඉන්නකොට අබේරත්න උපාසක මහත්තය එතුමගෙ ගම් ප්‍රදේශයේ ඉඳගෙන සෙත් පූජාව පවත්වන තැනට ආවා. එතුමා ගිහි වතේ ඉන්නකොට පවා යන්නෙ එන්නෙ භාවනා කරගෙන බිම බලාගෙනමයි. ඉතින් ළඟටම ආවට පස්සෙ තමයි අපි දිහා බලල හිනා වුනේ. ඊට පස්සෙ නැවතත් බිම බලාගෙනම එතුමා ඉන්න කාමරයට ගිහින් පූජාවට අඳින ඇඳුම් ඇඳගෙන ඇවිත්, ස්වාමීන් වහන්සේලා දානෙ එහෙම වැළඳුවද කියල අහල අපිත් එක්ක සුහදව කතා කළා. ඊට පස්සෙ බුලත් විටක් හපන ගමන් හිනාවෙවී ඇහුවා, අද මළගෙදරක් නේද කියල. ඔව් මහත්තය, කොහොමද අද සෙත් පූජාව තියන්නෙ කියල අපි ඇහුවා. ඒක නේන්නම් විසාල පිරිසක් ඈත ඉඳන් ඇවිත් ඉන්නවනේ, කොහොම කරන්නද මන්ද! මිනිස්සු බැනල බාධා කර ගනියි අදත් මේ මනුස්සයා කෑ ගහනවා කියල. මොනවා කරන්නද! දායක පිරිස ගොඩක් ඇවිත් ඉන්න නිසා කෙටියෙන් හරි බුද්ධ පූජාව පවත්වල ආපු පිරිස යවමු නේද කියල එතුමා කිව්වා. අද ශබ්ද විකාශන යන්ත්‍ර අවශ්‍ය නෑ කියලත් කිව්වා.

ඒ වෙලාවෙ අපිත් එක්ක හිටපු ස්වාමීන් වහන්සේ නමක් අහනවා, මහත්තය ඒ උපාසක අම්ම ඊයෙ නැතිවෙලා තියෙන්නෙ, ඒ ගැන සමාධියෙන් යොමු කරල බැලුවෙ නැත්ද, ආශිර්වාද පූජාව තියන බෝධීන් වහන්සේ වැඩ ඉන්න අල්ලපු වැටේ කෙනෙක් නේ, පූජාව වුණත් නිතරම ඇහෙනව පෙනෙනවනෙ කියල. එතකොට අබේරත්න මහත්තය කියනවා, ඔව් ඒ උපාසක අම්ම අසනීප

වෙන්නත් කලින් ඒ කාලෙ පූජාවලටත්, භාවනා වැඩසටහන්වලටත් සම්බන්ධ වුණා, නමුත් වැඩි කාලයක් සම්බන්ධ වෙන්න ලැබුනෙ නෑ, ඊට පස්සෙ තමයි ඔය අසනීප වුණේ කියල. හැබැයි මේ උපාසක අම්මගෙ ගෙදර තිබුණෙත් මේ ආරාමයේ අල්ලපු වැටේ නිසා, ඇය ගෙදර ලෙඩ ඇඳේ ඉඳගෙනම අබේරත්න මහත්තය පූජාව පටන් ගන්න කොට ඒකට සම්බන්ධ වෙලා තිබුණා. මොකද ශබ්ද විකාශන යන්ත්‍රයෙන් අවට ගෙවල්වලටත් ඇහෙනවා. ඔහොම ඉඳල ගොඩක් අමාරු වෙලා අන්තිමට නැති වෙනවා.

ඉතින් මහත්තය ඒ උපාසක අම්ම ගැන යොමු කරල බැලුවෙ නැත්ද කියල ඒ ස්වාමීන් වහන්සේ නැවතත් ඇහුවා. එතකොට අබේරත්න මහත්තය, බැලුවා බැලුවා කියල හිනා වෙවී කියනවා, මට අද උදේ අහවල් මහත්තය දුරකථනයෙන් කතා කරල කිව්වා, ඊයෙ හවස අර උපාසක අම්ම මිය පරලොව ගියා, අද අවමංගල උත්සවයට සූදානම් වෙනවා, ඒ නිසා ආශිර්වාද පූජාව කොහොමද කරන්නෙ කියල. මම කිව්වා, හා හොඳයි මම අද එනවා ඇවිත් ඒ ගැන තීරණයක් ගමු කියල. එහෙම කියල මම නැවතත් භාවනාවට යොමු වුණා. මම ඒ වෙලාවෙ සමාධියෙන් බැලුවා ඒ මියගිය උපාසිකාව ගැන. මම දැක්කා, ඒ උපාසක අම්මා මියයන වෙලාවෙ දිව්‍ය ලෝකෙන් හරි ලස්සන දේවතාවියො පිරිසක් ඇවිත් ඇයව එක්කරගෙන යන්න ඉන්නවා.

එතකොට අපි ළඟ හිටපු ස්වාමීන් වහන්සේ නමක් කියනවා, ඇයි මහත්තය අර බණ කතාවකුත් තියෙනවනේ ධම්මික උපාසක මහත්තය කියල කෙනෙක් මියයනකොට දිව්‍ය ලෝකවලින් ඇවිත් හිටිය කියල. එතකොට අබේරත්න මහත්තය මෙහෙම කියනවා. ඔව් ඔව් එහෙම බණ කතාවකුත් තියෙනව තමයි.

ඒ වගේම කතාවක් තමයි මේකත්. මම සමාධියෙන් බලනකොට දැක්කා ඊයෙ හවස ඒ උපාසක අම්මා මියයනකොට දිව්‍ය ලෝකවලින් දිව්‍ය රථවලින් පිරිස් එක් කරගෙන යන්න ඇවිත් ඉන්නවා. ඒ දිව්‍ය රථවල ආලෝකයෙන් වටේටම එළියයි. ඒ උපාසිකාව ඒක දැකල තියෙනවා. නමුත් දිව්‍ය ලෝකවලින් ආපු බවක් නම් දන්නෙ නෑ. ඇය දැකල තියෙන්නෙ ඒ ගෙදර පැත්ත පළාතෙම එළිය වැටිල ආලෝක වෙලා, විදුලි බුබුළු දල්වලා වගෙයි. ඒ වෙලාවෙ මේ උපාසක අම්ම තමන්ගෙ ගෙදර ළමයින්ට කෑ ගහනවා, ඇයි මේ හැම තැනම ලයිට් දාලා ලයිට් නිවල දාන්න කියල. එතකොට ළමයි කියනවා, නෑ අම්මෙ ලයිට් දාල නෑ තවම රෑ වුණේ නෑ කියල. ඊට පස්සෙ ටික වෙලාවක් ඉඳල නැවත කියනවා, මම දත් මැදල මුහුණ හෝදගෙන ඉන්නෙ කියල. එතකොට ඒ උපාසිකාවගෙ දුවෙක් අහනවා, අම්මට දත් බෙහෙත් කොහෙන්ද කියල. කොස් කොළයක තියල දත් බෙහෙතුයි දත් බුරුසුවකුයි ගෙනත් දුන්න කියල කිව්වා.

මේ විදිහට අබේරත්න උපාසක මහත්තය සමාධියෙන් දැකපු සිද්ධිය අපිත් එක්ක කියනකොට, ඒ මියගිය උපාසක අම්මගෙ ස්වාමි පුරුෂයා දුවගෙන ඇවිත් මෙහෙම කියනවා. මහත්තය, අසනීපයෙන් හිටපු අපේ නෝනා ඊයෙ හවස නැති වුණා. දිගටම වගේ හොඳ සිහි කල්පනාව තිබුණා. ඒ වුනාට ඊයෙ හවස නම් තරමක් සිහි කල්පනාව අඩු ගතියක් තමයි තිබුණෙ. හවස ළමයින්ට කෑ ගැහුවා, හැම තැනම ලයිට් දාලා ලයිට් නිවන්න කියල. ඊට පස්සෙ කිව්වා, මම දත් මැදල මූණ හෝදගෙන ඉන්නෙ කියල. ඒ විදිහට ටිකක් සිහි කල්පනාව නැති වෙලා තියෙනවා. ඒක තමයි ප්‍රශ්නය, වෙන ප්‍රශ්නයක් නම් නෑ... මේ විදිහට බොහොම කණගාටුවෙන් කිව්වම, ඒ වෙලාවෙ අබේරත්න උපාසක මහත්තය ඔහුට නොදැනෙන්න වගේ අපේ දිහාත් බලල, හා එහෙමද, කොහොමද ඉතින් වැඩකටයුතු කියල, මමත් හවස එන්නම් කිව්වා. එතකොට ඒ ස්වාමිපුරුෂයා අබේරත්න මහත්තයටත් වැඳල මළ ගෙදර ඉතිරි වැඩ කටයුතු සූදානම් කරන්න ගියා. අපි නැවතත් අබේරත්න උපාසක මහත්තය එක්ක ඒ සිද්ධිය ගැන කතා කළා. ඒ වෙලාවෙ අබේරත්න මහත්තය සමාධියෙන් දැකල අපිත් එක්ක කියපු සියල්ලම අර උපාසක අම්මගෙ ස්වාමිපුරුෂයත් ඒ විදිහටම කිව්වා.

එතකොට අපිත් එක්ක හිටපු අර ස්වාමීන් වහන්සේ, ඉතින් ඉතින් මහත්තය ඊළඟට මොකද වුනේ කියල මහා කුතුහලයෙන් කතාවෙ ඉතිරි කොටස දැන ගැනීමේ බලාපොරොත්තුවෙන් ඇහුවා. අබේරත්න මහත්තය හිනාවෙවී නැවතත් කතාව කියන්න පටන් ගත්තා. ඉතින් මේ සිද්ධියෙන් ටික වෙලාවකට පස්සෙ තමයි උපාසක අම්මගෙ පණ ගියේ. එතකොට උපාසක අම්මා අර අන්තිමට කතා කරපු වචන නිසා තමයි ගෙදර අය හිතල තියෙන්නෙ අම්මා මෙච්චර කාලයක් හොඳට හිටියා, දැන් මේ අවසන් මොහොතේ සිහි විකල් වෙලා නැති වුණා කියල. නමුත් අර ලයිට් දාල කියල උපාසකම්මා කියල තියෙන්නෙ දිව්‍ය ලෝකවලින් ආපු දිව්‍ය රථවල ආලෝකයට. ඒක උපාසකම්මට තෝරගන්න බැරි වෙච්ච නිසයි අර විදිහට කියල තියෙන්නෙ. දත් මැදල මුහුණ හෝදගත්තා කිව්වෙ සුබ නිමිත්තක්. ඒ කියන්නෙ හොඳ තැනකට යන්න සූදානම් වෙලා ඉන්නවා කියන එක. අන්න ඒ ගති නිමිත්ත තමයි ඒකෙන් කිව්වෙ. ඒ උපාසිකාව මියගිය වෙලාවෙ දිව්‍ය ලෝකවලින් හරි ලස්සන දේවතාවියො විසාල පිරිසක් ඇවිත් ඇයව වටකරගෙන හිටියා. පණ යනවත් එක්කම ඇය දේවත්වයට පත් වුණා. අපි එදා කතා කළ විදිහට මිය යනවත් එක්කම චුති පටිසන්ධි සිද්ධ වුන අවස්ථාවක් කියල, කලින් කරපු විශේෂ දේශනාවකට සාක්ෂියකුත් ඉදිරිපත් කරල අතුරු ධර්ම සාකච්ඡාවකුත් කෙටියෙන් කළා. .

ඒ දේවතාවිය රැගෙන යන්න ආපු අනෙක් දේවතාවියන් සියලු දෙනාටම වඩා ඇය හරිම කඩවසම් ලස්සන පෙනුම තියෙන ඉතා සිත්කලු දේවතාවියක් බවට පත් වුණා. එතැන හිටපු සියලු දේවතාවියන් හරිම සතුටින් අලුත් දේවතාවියව බාර අරගෙන, අනේ මෙයාගෙ ලස්සන, හරියට තැඹිලි මලේ පාටමයි කියල, අපි මෙයාට තැඹිලි මල් කුමාරි කියල නම තියමු කියල සියලු දෙනාම එකතුවෙලා ඒ නම සම්මත කරගත්තා. ඇයව වට කරගෙන ඒ ආපු සියලු දෙනාම ඇයගේ සේවක පිරිසක් හැටියට කටයුතු කරමින් බොහොම සතුටින් ඒ වෙලාවෙම එක්කරගෙන ගියා...

මේ ආදී වශයෙන් ඒ පිළිබඳව දිගින් දිගටම කතා කළා. ඔය අතර දවල් කාලෙ ආශිර්වාද සෙත් පූජාව තියන වෙලාව ආපු නිසා, අබේරත්න මහත්තය එක පාරටම කතාව නතර කරල ඒ සඳහා සූදානම් වුණා. එදා පූජාව පැය දෙකකින් විතර අවසන් කළා. වෙනදට පැය හතර පහක් විතර කරන බුද්ධ පූජාව තමයි එදා කෙටියෙන්, ශබ්ද විකාශන යන්ත්‍රත් නැතිව සිද්ධ කළේ. සෙත් පූජාව අවසන් වෙච්ච හැටියෙම අපි නැවතත් අබේරත්න උපාසක මහත්තයත් එක්ක ධර්ම සාකච්ඡාව ආරම්භ කළා.

නැවතත් අපිත් එක්ක හිටපු ස්වාමීන් වහන්සේ අහනවා, ඉතින් මහත්තය අර තැඹිලි මල් කුමාරි දේවතාවිය එහෙම සෙත් පූජාවට සම්බන්ධ වුණේ නැත්ද කියල. මොකද නැත්තෙ, ඒ දේවතාවියත් එක්ක තව විසාල දේවතා පිරිසක් සම්බන්ධ වුනා, ඒ අයගෙත් මහා විශේෂ පූජා ක්‍රම තියෙනවා, අපි සෙත් බුද්ධ පූජාව කරන ස්ථානයේ තියෙන බෝධීන් වහන්සේ, ධර්ම ශාලාව... ආදී සියලු ප්‍රදේශයම වැහෙන විදිහට මල්වලින් මහා විසාල වියනක් දමල ඒ අයගෙ සතුට ප්‍රකාශ කරල, ඊට පස්සෙ සෙත් බුද්ධ පූජාව අවසන් වෙනවත් එක්කම ඒ සියලු දෙනාම යන්න ගියා කියල අබේරත්න මහත්තය හිනා වෙවී කිව්වා.

එතකොට අර ස්වාමීන් වහන්සේ මෙහෙම කියනවා. මහත්තය අපි ඉතින් ඔය වගේ කතා බණ දහම් පොත්වලින් තමයි අහල තියෙන්නෙ. එහෙම නැතිව අපිට අත්දැකීම් නැහැනෙ. නමුත් ඉතින් ඔය වගේ සිදුවීම් වර්තමානයෙත් ඕනෑ තරම් සිද්ධ වෙන ඇති නේද? නමුත් ඉතින් කවුද ඒවා දන්නෙ දකින්නෙ! මහත්තය, ඒ මියගිය උපාසිකාව ගැන කියපු විස්තරයම ඇගේ ස්වාමිපුරුෂයත් ඇවිත් මහත්තයටම කිව්වා. නමුත් ඉතින් එතුමාවත් දන්නෙ නැනෙ ඇත්තටම සිද්ධ වුණේ මොකක්ද කියල. අද දවසෙ වුනත් මේ සෙත් පූජාවට සහභාගි වෙච්ච පිරිස කොච්චර නම්ද! මෙච්චර විසාල පිරිසක් ඉඳල ඔය විස්තරයවත් දන්නෙ මෙතැන ඉන්න අපි ටික දෙනෙක් විතරයිනෙ. ඉතින් අද රටේ ලෝකෙ අය ගැන මොනවා කියන්නද! මළගෙදර යන එන අය වුණත් මේවා මොකවත් දන්නෙ නෑ, තව දවසක් හමාරක් දේහය ළඟ තියාගෙන ඉඳල මොනව හරි කියල අවසන් කටයුතු කරයි. ටික දවසක් යනකොට සියල්ල අමතක කරල නැවතත් වෙනදා වගේම නොමැරෙන මිනිස්සු විදිහට ජීවත් වෙයි... මේ ආදී වශයෙන් උන්වහන්සේගේ අදහස් විවිධ ආකාරයෙන් විස්තර කළා.

එතකොට අබේරත්න උපාසක මහත්තය මෙහෙම කියනවා.

ඒක නේන්නම් ස්වාමීන් වහන්ස, මේ ටිකවත් දන්නෙ ඔබ වහන්සේලා විතරයිනේ, මොනවා කරන්නද ලෝකෙ හැටි ඔහොම තමයි මේ ගැන මිනිස්සු දැනුවත් නෑ, දහම් අවබෝධයකුත් නෑ. බොහොම ටික දෙනෙක් තමයි මේ ගැන දැනුවත් වෙන්නෙ. වැඩි පිරිසකට මේවා කිව්වට තේරෙන්නෙත් නෑ, විස්වාස කරන්නෙත් නෑ... මේ ආදී වශයෙන් කියල එදා මේ ගැන දීර්ඝ ධර්ම සාකච්ඡාවකුත් කළා.

එදා සෙත් ආශිර්වාද පූජාවට සම්බන්ධ වෙච්ච සියලු ස්වාමීන් වහන්සේලා ඒ මළ ගෙදරට වැඩම කළාම, ඒ දායක පිංවතුන් බොහොම ගෞරවයෙන් උන්වහන්සේලාව පිළි අරගෙන කටයුතු කළා. මියගිය උපාසිකාවගේ දූවරු කිහිප දෙනෙක්ම අපිත් එක්ක කිව්වා, අනේ ස්වාමීන් වහන්ස අම්ම නිදාගෙන ඉන්නවා වගේමයි කිසිම වෙනසක් නෑ කියල. අපිටත් තේරුණා වෙනත් මළ ගෙවල්වල ගියා වගේ නෙවෙයි, ඇත්තටම මළගෙයක්ද කියන වගක්වත් තේරුනේ නෑ. මළ ගෙදරට අවසන් ගෞරව කරන්න ආපු අය පවා වෙනත් තැන්වලට වඩා බොහොම ශාන්තව සංසුන්ව කටයුතු කරපු ආකාරයක් තමයි දකින්න තිබුණෙ. නමුත් අර විශේෂ සිදුවීම නම් කවුරුවත්ම දන්නෙ නෑ. අපිත් ටික වෙලාවක් ඒ මළ ගෙදර හිටියා. ඒ වෙලාවෙම අබේරත්න උපාසක මහත්තයත් ඒ මළ ගෙදරට ඇවිත් මියගිය උපාසිකාවගේ දේහය දිහා බලාගෙන ටික වෙලාවක් ඉඳල අනෙක් අය එක්කත් සුහදව කතාබහ කරල යන්න ගියා. අපිත් ඉතින් නැවතත් අබේරත්න මහත්තය සාසනික කටයුතු සිද්ධ කරන තැනට ගිහින් ටික වෙලාවක් ධර්ම සාකච්ඡා කළා.

ඉතින් මේ කතාවෙන් පණිවිඩ ගණනාවක්ම දෙනවා. එකක් තමයි මරණාසන්න මොහොතේ කෙනෙක්ගෙ ගති නිමිති පහළ වීම. ධම්මික උපාසකතුමාට වුණෙත් මේ වගේ සිද්ධියක්. එතුමාගේ මරණාසන්න මොහොතෙදි භික්ෂූන් වහන්සේලා පිරිත් කියනකොට හදිසියේම උපාසක මහත්තයා අතින් සංඥා කරල තියෙනවා. එතකොට උන්වහන්සේලා හිතල තියෙන්නෙ පිරිත නවත්වන්න කිව්වා කියල. ඒ නිසා පිරිත් කියන එක නවත්වල තියෙනවා. නමුත් ඒ වෙලාවෙදි සිද්ධ වුණේ වෙනත් දෙයක්. දිව්‍ය ලෝකවලින් දේවතාවො ඇවිත් උපාසක මහත්තයට කතා කරනකොට ඒ දේවතාවන්ට තමයි අතින් සංඥා කරල කියල තියෙන්නෙ, පොඩ්ඩක් ඉන්න පිරිත් අහල ඉවර වෙනකල් කියල. නමුත් ඒ කාරණය ඒ භික්ෂූන් වහන්සේලාට තේරුම් ගන්න බැරි වුණා. ඒ නිසා පිරිත නැවැත්තුවා. ඊට පස්සෙ බුදුන් වහන්සේ තමයි ඒ කාරණය භික්ෂූන් වහන්සේලාට පැහැදිලි කරල දීල තියෙන්නෙ. ඒ වගේ දෙයක් තමයි මෙතැනදි සිද්ධ වෙලා තියෙන්නෙත්.

ඉතින් මේ සිදුවීමත් කාලයාගේ ඇවෑමෙන් ටිකෙන් ටික අතීතයට ගියා. පසු කාලයේදි අබේරත්න මහත්තයත් පැවිදි වෙලා වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය ආරම්භ කළා. ඒ දවස්වල පහළ ධර්ම ශාලාවේ තමයි ආශිර්වාද සෙත් බුද්ධ පූජාව සිද්ධ කළේ. ඒ මළ ගෙදරින් අවුරුදු කිහිපයකට පස්සෙ, දවසක් අපිත් එක්ක තවත් විසාල දායක පිරිසක් ඒ පූජාව සඳහා සම්බන්ධ වෙලා හිටියා. අපි ඉතින් ඇස් පියාගෙනම තමයි පූජාවට සම්බන්ධ වෙලා හිටියෙ. පූජාව පැවැත්වෙන අතරෙ එකපාරටම මම ළඟ හිටිය ස්වාමීන් වහන්සේත් තවත් දෙතුන් නමක්ම හයියෙන් හිනා වුණා. තැන් තැන්වලින්වලින් ගිහි පිංවතුන් කිහිප දෙනෙකුත් ඒ විදිහටම එකපාරටම හිනා වුනා. ඊට පස්සෙ වටපිට බලල නැවතත් ඒ ස්වාමීන් වහන්සේලා ඇස් පියාගෙන පූජාවට සම්බන්ධ වුණා. එදා ධර්ම ශාලාව පිරෙන්න දායක පින්වතුන් ඇවිත් හිටියා. වැඩි පිරිසක් වට පිට බලල නැවත පූජාවට සම්බන්ධ වුණා. පූජාව අවසන් වුණාට පස්සෙ මම ළඟම හිටපු ස්වාමීන් වහන්සේ මෙහෙම කියනවා. හරි වැඩේනෙ වුනේ! වහරක හාමුදුරුවො සෙත් පූජාව කරනකොට බොහොම ලස්සන කාන්තාවො ටිකක් ඇවිත් හාමුදුරුවන්ගෙ ඉස්සරහ හරි ලස්සනට නැටුවා. තව කෙනෙක් ඇවිත් මහ විසාල සල් මල් වට්ටියක් අරගෙන හාමුදුරුවන්ගෙ දෙපා ළඟින් තියල වැන්දා. නමුත් ඒ කවුද කියල දැක්කෙ නම් නෑ, මහ විසාල සල් මල් වට්ටියයි අත් දෙකයි විතරයි දැක්කෙ. මට හිනා ගියේ, මේ තරම් වටිනා පූජාවක් තියෙන වෙලාවෙ කාන්තාවො පිරිසක් හාමුදුරුවො ඉස්සරහ නටපු එකට. මම එකපාරටම වටපිට බැලුවා. පස්සෙ තමයි මට තේරුණේ මම දැකල තියෙන්නෙ සමාධි දර්ශනයක් කියල.

ඒ හාමුදුරුවො දැකපු සිද්ධිය ඒ විදිහට කිව්වා. අපිත් ඉතින් ඒ වෙලාවෙ දවල් දානය වළඳන්න සූදානම් වෙලා වහරක හාමුදුරුවොත් එක්කම දාන ශාලාවට ගියා. ඒ වෙලාවෙ මේ සිදුවීම ඒ හාමුදුරුවො වහරක හාමුදුරුවන්ටත් කිව්වා. වහරක හාමුදුරුවොත් ටිකක් හයියෙන්, මම දන්නෙත් නෑ ඕව කියල බිම බලාගෙනම වැඩියා. අපිත් ඉතින් දාන ශාලාවට ගිහින් දානය වළඳල මේ සිදුවීම නැවතත් වහරක හාමුදුරුවන්ට කිව්වම උන්වහන්සේ මෙහෙම කියනවා.

අභවල් දිහාවෙ ඒ කාලෙ නැතිවුන උපාසිකාවගෙ ඥාති පිරිස ඇයට පින් අනුමෝදන් කරන්න අද දානයටයි සෙත් පූජාවටයි සම්බන්ධ වුණා. අන්න ඒ දේවතා පිරිස තමයි අර විදිහට ආවෙ. බණ දහම් අහල දේවත්වයට පත්වෙච්ච ඒ දේවතාවිය තමන්ගෙ ප්‍රසාදය ඉදිරිපත් කළේ මහා විසාල සල් මල් වට්ටියක් ගෙනත් පූජා කරල. නමුත් ඉතින් එයාගෙ පිරිස බණ දහම් අහල දහම් මාර්ගය තේරුම් ගත්ත අය නෙවෙයිනේ. ඒ නිසා තමයි ඒ අයගෙ සතුට ප්‍රකාශ කරන්න මම ළඟට ඇවිත් නැටුවෙ. ඒත් ඉතින් අපි ඒවාට සතුටු වෙන්නෙ නැති බව දැන ගත්ත හැටියෙ ඒ අය ඒ නැටුම නතර කළා. බණ දහම් අහල දහම් මාර්ගය තේරුම් අරගෙන දේවත්වයට පත් වුණ නිසා තමයි, තමන්ගෙ ශරීරයෙන්වත් පෙනී සිටින්නෙ නැතිව අර දේවතාවිය දෑතින් සල් මල් වට්ටියක් ගෙනත් පූජා කළේ. අනික් අයට තමන් නිසා රාග හැඟීමක්වත් ඇති වෙනවට ඒ අය කැමති නෑ. දහම් මාර්ගය පූර්ණ කරන අයට ඒ අය ආශිර්වාද පවා කරනවා. නමුත් ඉතින් අපි ඒවා බලාපොරොත්තු වෙන්න හොඳ නෑ. ඕවා මිනිස්සුන්ට කියන්න හොඳත් නෑ. මොකද ඊට පස්සෙ දෙවියො බලන්න කියල භාවනා කරන්න පටන් ගනියි. ඒකයි මම ඒ වෙලාවෙ එහෙම කිව්වෙ කියල වහරක හාමුදුරුවො අපිත් එක්ක කිව්වා.

මේ සිදුවීමත් ඉතින් හත් අට දෙනෙක්ම සමාධි දර්ශන තුළින් දැකල තිබුණා. එදා ධර්ම සාකච්ඡා කරන වෙලාවෙ දහම් ප්‍රශ්නයක් විදිහටත් මේ ප්‍රශ්නය යොමු කරල තිබුණා. වහරක හාමුදුරුවො තරමක් දුරට ඒ පිළිබඳව පැහැදිලි කිරීමකුත් කළා. නමුත් ඉතින් ප්‍රසිද්ධියේ මේ වගේ අවස්ථා පිළිබඳව කතාබහ කළේ නම් තරමක් අඩුවෙන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

**30 වන කොටස**

<u>අනත්ත පිළිබඳව චූල සච්චක සූත්‍රයෙන්</u>

ම. නි. (1)-557 පිටුව - රූප - වේදනා - සංඥා - සංඛාර - විඤ්ඤාණ යන අතීත, අනාගත, වර්තමාන, අධ්‍යාත්මික, බාහිර, ඕලාරික, සූක්ෂම, හීන, ප්‍රණීත, දුර, ළඟ යන එකොළොස් තැනින් වූ සියල්ල ආත්ම හෝ ආත්මීය භාවයෙන් ශූන්‍ය බවද, එනිසාම එය මමය, මාගේය, මාගේ ආත්මයයි ගැනීම හිස් අදහසක් බව පෙන්වා ඇත.

මේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන පසම මෙසේ වේවා, මෙසේ නොවේවායි තම අධිපති බවින් පැවැත්විය නොහැකි බවද, කැමැත්තට අනුව සිදු නොවන බවද හේතු සහිතව පෙන්වා ඇත.

<u>නෙත්තිප්‍රකරණය - 230 පිටුව</u>

"... ඡ ඉමේ භික්කවේ බලීසා

ලෝකස්මිං... . " ආදී බුද්ධ දේශනාවක් ඇත. එහි විස්තරය මෙසේය.

ක්ලේෂ මාරයා විසින් දමන ලද බිලී 6 ක් ඇත. ඉෂ්ට වූ, කාන්ත වූ, මන වඩන ප්‍රිය ස්වභාව ඇති ක්ලේෂ කාම සහිත වූ සිත් අලවන චක්ඛු විඤ්ඤාණයෙන් දැකගත යුතු රූපයෝ ඇත. යම් මහණෙක් හෝ යමෙක් ඒ රූපයට ප්‍රිය සහගත තෘෂ්ණාවෙන් සතුටු වේද, තණ්හා වශයෙන් බෙනේද (බැඳෙනවද), එහි ගැලී සිටීද, ඔහු ක්ලේෂ මාරයාගේ රූප තණ්හා නමැති බිලිය ගිලින ලද්දේය, අනර්ථයට පැමිණ මරු වසඟයට යේ.

තවද මහණෙනි, ඉෂ්ට වූ කාන්ත වූ මන වඩන්නා වූ ප්‍රිය ස්වභාව ඇති කාමෝප සංහිත වූ රජනීය වූ රූපයෝ ඇත. ඉදින් මහණ, ඒ රූපයට තණ්හා වශයෙන් සතුටු නොවේද, තණ්හා වශයෙන් නොබෙනේද, එහි ගැලී නොසිටීද, ඒ මහණ කෙලෙස් මරුගේ රූප තණ්හා බිලිය ගිලගෙන නොසිටියේය. මාර බිලිය බින්දේය, අනර්ථයට නොපැමිණියේය, මරු වසඟයට නොගියේය.

මෙසේ හයම විස්තර කළ යුතුය.

<u>නෙත්ති ප්‍රකරණය - 26 පිටුව</u>

පරායන සූත්‍රවල දුක්ඛයම මහා භය බව පෙන්වා ඇත.

ප්‍රශ්නය: කිංසු තස්ස මහබ්භයන්ති (මහා බය මොකද්ද?)

පිළිතුර: දුක්ඛ මස්ස මහබ්භයන්ති (දුක තමයි මහා බය)

දුවිදං දුක්ඛං (දුක දෙයාකාරයි)

කායිකංච චේතසිකංච (කායික දුක සහ චෛතසික දුක) සියලු සත්වයෝ දුකට තැති ගනිති.

නත්ථි භයං දුක්ඛේන සම සමං (දුක හා සමාන වූ බියක් නැත).

දුක්ඛතා 3කි. මේ දුක් තුනෙන් ලෝසතුන් යම්කිසි කාලයක දුක්ඛ දුක්ඛයෙන් හා විපරිණාම දුක්ඛයෙන් මිදෙයි. ඒ ලෝකයේ අල්පාබාධ හා දීර්ඝායුෂ ඇති කාලවලය. නමුත් සංඛාර දුක්ඛයෙන් මිදෙන්නේ අනුපාදිසේස පරිනිර්වාණයෙන් පසුවය. එම නිසා සංඛාර දුක්ඛය ලෝක සත්වයාට මහා බයකි. ඒ අනුව අරිහතුන් වහන්සේටද සංඛාර දුක්ඛය ඇති බව වටහා ගත යුතුය.

<u>පෙළ දහම ඇසුරින්</u>

1. අනිච්ච = බය - දුක්ඛ දුක්ඛය
2. දුක්ඛ = භය - සංඛාර දුක්ඛය
3. අනත්ත = අසාර - විපරිනාම දුක්ඛය

යද නිච්චං තං දුක්ඛං යං දුක්ඛං තද නත්ථා

දස අකුසලයෙන් මිදීමෙන් ලෞකික සමතුලිත බව වේ (බය වීමෙන් පෙලීම වී දුක්ඛ දුක්ඛය වේ. අනිච්ච නොදැනීමෙනි)

දුක්ඛානුපස්සනාව නොදැනීම නිසා ආස්වාද පසුපස හඹා යයි. සංඛාර දුක්ඛය වේ. ආස්වාදයට බැඳීමෙන් පත්වන දුකට බිය වීමෙන් සංඛාර කිරීම අත්හරී. ඒ මගින්ද දුකින් මිදේ. (වස බෝතලයේ උපමාව)

පංච උපාදානස්කන්ධය සාර ලෙස ගැනීම නිසා විපරිනාම වන විට ශෝක වේ, දුක් වේ. අසාර බව දුටු විට විපරිනාම දුකින් මිදේ.

**ලෝකයේ කිසිවක් කැමැත්තට අනුව සිදු නොවන අතර සිදුවන්නේ හේතු ඵල දහම අනුවය. නමුත් සත්වයා කැමැත්තටම තැනදී ඉටු කරගන්න බැරිව දුක් විඳී.**

<u>පෙටකෝපදේශය - 106 පිටුව - හාර විභංගය</u>

නිස්සෝ දුක්ඛා - දුක් තුනකි

1. උප්පාදෝ සංඛත ලක්ඛනං - සංඛාරා දුක්ඛතාය දුක්ඛතා
2. වයෝ සංඛත ලක්ඛනං - විපරිනාම දුක්ඛතාය දුක්ඛතා
3. අඤ්ඤථත්තං සංඛත ලක්ඛනං - දුක්ඛ දුක්ඛතාය

පෙලෙන දුක්ඛ දුක්ඛයට තාවකාලික පිළියම් කරන වැඩපිළිවෙල සංඛාර දුක්ඛයයි. තාවකාලික ලෙස පෙලීමේ සමනය වීමයි සුඛ ස්වභාවයෙන් වැටහෙන්නේ. අවිදුව නිසා මීට සුවය යැයි රැවටේ. මින් වැඩි සුවයයි යමක් ලොව නැත.

එබැවින් බුදු වදන වනුයේ "තපෝ ගුණය හැර, බොජ්ජංග ධර්ම හැර, නිවන හැර ලෝ සතුන්ට තවත් සුවයක් මම නොදකිමි" යනුයි.

සියල්ලෝ නිවන් සුවම ලබත්වා.

<u>නෙත්ති ප්‍රකරණය - 150 පිටුව</u>

සම්මා දිට්ඨිය ගත් කල්හි, අරි අටඟි මග සහ සම්මා ඤාණද සම්මා විමුක්තියද ගත්බව

<u>ස. නි. 4 - 393 පිටුව - පාතාල සූත්‍රය</u>

පාතාලය යනු ශාරීරික දුක් වේදනාවන්ට නමකි.

<u>ස. නි. 5 - 1 - 27 පිටුව- කුක්කුටාරාම සූත්‍රය</u>

අබ්‍රහ්මචරියාව යනු ස්ත්‍රී පරිහරණය සහිත වාසය ලෙස අරුත්ගෙන ඇත. නමුත් නියම අදහස මිච්ඡා දිට්ඨි, මිච්චා සංකප්ප... ආදී මිච්ඡා අට මග වන බව මෙහි පෙන්වයි.

<u>දෙවන කුක්කුටාරම සූත්‍රය - 27 පිටුව</u>

බ්‍රහ්මචරියාව නම් සම්මා දිට්ඨි, සම්මා සංකප්ප... ආදී සම්මා මාර්ග අංග අට බවද දක්වා ඇත.

<u>ස. නි. 5. 1 - 31 පිටුව - අකුසල ධම්ම සූත්‍රය</u>

අකුසල ධර්ම යනු මිථ්‍යා අට මග බව පෙන්වයි. කුසල් දහම් යනු අරි අටඟි මගයි.

සාසනික භාවනාව නම් අරි අටඟි මග වැඩීම බව, එහිම 113 පිටුවේ එන <u>සුබ සූත්‍රයේ</u> ඇත.

<u>ම.නි. (2) -131 අම්බලට්ඨික රාහුලෝවාද සූත්‍රය</u>

අතීත, වර්තමාන, අනාගත යන තුන් කල්හිම යම් කිසි කෙනෙක් සිත, කය, වචනය පිරිසිදු කළා නම්, කරන්නේ නම්, කරයි නම් යහපත අයහපත සිතා බලා දැන ගෙන කිරීම ශ්‍රමණ මග බව.

<u>මහා නිද්දේස පාලි-92 පිටුව</u>

යං සමාදානං තං වතං සංවරට්ඨේන සීලං

යම් සමාදානයක් ඇත්ද එය වතකි, සංවරත්වයේ පිහිටීමක් ඇත්ද එය සීලයයි (වත හා සීලයේ වෙනස)

<u>මහා නිද්දේස පාලි 97 පිටුව</u> - සමිත යනු සංසිඳ වීමයි. ශාන්ත යනු රාග ද්වේශ මෝහ ආදියේ සංසිඳවීමෙන් එන ශාන්තියයි.

<u>ම.නි. 3-162 පිටුව- සප්පුරිස සූත්‍රය</u>

උසස් යයි සම්මත කුලය ගැන සිතා මානයෙන් අනුන් හෙලා දැකීමේ පටන්, අරණ්‍ය, පාංසුකූලිකය... ආදිය ගැන හා සියලු දැහැන්, එනම් පළමුවන දැහැනේ පටන් නේවසඤ්ඤානාසඤ්ඤායතනය ලැබෙනතුරු, එම දැහැන් පිළිබඳව සිතා, මම මෙසේ වෙමි හෝ මෙසේ නොවෙමියි යන හැඟීම ගතහොත් අසත්පුරුෂ බවද, නිවන් නැතිවන බවද කියා ඇත. නිරෝධ සමවතට එන විට එසේ මාන නැති බවද කියා ඇත. (මගඵල ඇති අය එසේ මානයෙන් නොකියයි. සූත්‍රය බලන විට මගඵල ලාභීන් එසේ වන බව සඳහන් නොවේ)

## කේසර සිංහයාගේ ලක්ෂණ පිළිබඳව අර්ථ කථාවල පෙන්වා ඇති අයුරු

<u>සිංහ වර්ග</u>

1. තිණ සීහ - කොබෙයි වර්ණයි, තෘණ කයි.
2. කාල සීහ - කළු දෙනකගේ වර්ණයි, තෘණ කයි.
3. පණ්ඩු සීහ - ඉදුන කොළ වර්ණයි, මාංශ භක්ෂකයි.
4. කේසර සීහ - මුඛය, පාද අග, වලිග අග ලාකඩ වර්ණයි( රතු)

හිස පටන් තෙලි තුඩකින් ඇඳි ලෙස රතු ඉරි තුනක් පිට දිගේ ඇත. කලවා අතරින් දකුණට කරකැවී සිටී. කඳ දෙපැත්තේ රෝම දෙපසට වැටී ඇත්තේ ලක්ෂයක් වටිනා කම්බිලියක් මෙනි.

**කේසර සිංහයාගේ චර්යා රටාව පෙළ දහමේ පෙන්වා ඇති අයුරු**

<u>සංයුත්ත සංයුත්ත නිකාය - (3) සීහෝපම සූත්‍රය - 146 පිටුව</u>

1. සවස් ගාමයේ සිටි තැනින් නික්මෙයි (සායංහ සමයං)
2. ඇඟ සොලවා හරියි (විජම්භති)
3. සිව් දිසා හොඳින් බලයි (චතුද්දිසා අනු විලෝකෙත්වා)
4. තෙවිටක් සීහ නාද කරයි
5. ගොදුරු පිණිස පිටත්වේ (ගෝචරාය පක්කමති)
6. තිරිසන් ගත ප්‍රාණීන් එවිට ඒ හඬ අසති
7. බයට සංවේගයට පැමිණ බිලවල (ගුහාවල/බෙනවල) ඇසුරු කරන සතුන් බිලවලට වදිති. දියෙහි වසන සත්තු දියට වදිති. වනයේ වසන සතුන් වනය තුළට වදිති. පක්ෂීහු ආකාසයට වදිති. ගම් නිගම් රජදහන්වල බැඳ සිටින සතුන් වරපටවල් කඩාගෙන මලමූ වගුරමින් දුවති.

මෙසේ උපමාවෙන් බුදු රජුන් තිලකුණු ඔප් නංවා ධර්ම දේශනා කරන විට, චතුරාර්ය සත්‍ය දේශනා අසා, නිච්ච සුඛ අත්ථ ලෙස සිතා සිටින දීර්ඝායුෂ්ක වූ, වර්ණවත් වූ, සුඛ බහුල දේවතාදීහු තථාගත ධර්මය ශ්‍රවණය කර, අනිච්ච වූ අප නිච්චයි සිතා සිටියෙමු, අසාස්වත වූ අප සාස්වත යැයි සිතා සිටියෙමුයි බයට සංවේගයට සන්තාපයට පැමිණේ.

සීහෝපම සූත්‍ර වර්ණනාවේ, කේසර සිංහයා රන් රිදී මැණික් පළිඟු ගුහාවක සිට නික්මෙන බවත්, ආලෝක බැලීම, මල මූ පහ කිරීම, බඩ ගින්නට ගොදුරු සෙවීම, කාම මෛථුනය යන හතර අවස්ථාවල පමණක් නික්මෙන බවත්, රන් රිදී මැණික් පළිඟු යන තලයකම සිටින බවත් (ගුහාවෙන් එළියටවිත්) ආදී වශයෙන් වර්ණනා කර ඇත. එම වර්ණනාවේ අෂ්ට විද්‍යා සහ පසළොස් චරණ ධර්මද පෙන්වා ඇත්තේ මෙසේය.

<u>අෂ්ට විද්‍යා</u>

1. විදර්ශනා ඥාන 2. මනෝමය ඍද්ධි 3. ඍද්ධි විධ 4. දිබ්බ සෝත 5. පරචිත්ත විජානන 6. පූර්වේනිවාසානුස්සති 7. දිබ්බ චක්ඛු 8. ආසවක්ඛය

<u>පසළොස් චරණ ධර්ම</u>

1. ප්‍රාතිමෝක්ෂ සීලය 2. ඉන්ද්‍රිය සංවර සීලය 3. පමණ දැන වැළදීම 4. නිදි දුරු කිරීම 5. ශ්‍රද්ධාව 6. පවෙහි ලැජ්ජාව 7. පවෙහි බිය 8. බහුසෘතය 9. පරාක්‍රමය (විරිය) 10. සිහිය 11. ප්‍රඥාව 12. ප්‍රථම ධ්‍යාන 13. ද්විතිය ධ්‍යාන 14. තෘතිය ධ්‍යාන 15. චතුර්ථ ධ්‍යාන

<u>බුදු පියාණන් වහන්සේගේ පසැස්</u>

1. මසැස 2. දිවැස 3. පැණැස (ප්‍රඥා ඇස) 4. බුදු ඇස 5. සමතැස (සර්වඥතා ඥානය)

<u>දස රාජ ධර්ම</u>

1. දානය 2. සීලය 3. පරිත්‍යාගය 4. ඍජු බව 5. මෘදු බව 6. තපස 7. අක්‍රෝධය 8. අවිහිංසාව 9. ක්ෂාන්තිය 10. අවිරෝධතාව

<u>මිච්ඡා දිට්ඨිය - සක්කාය දිට්ඨිය - අත්තානු දිට්ඨිය</u>

ඇස, කන, නාසය, දිව, කය අනිච්චයි කියා දැකීමෙන් මිත්‍යා දෘෂ්ටිය පහ වේ. සම්මා දිට්ඨිය ලැබේ. දුක්ඛයි කියා දැකීමෙන් සක්කාය දිට්ඨිය පහවේ. අනත්තයි කියා දැකීමෙන් අත්තානු දිට්ඨිය (සාරයි කියන දෘෂ්ඨිය) පහ වේ.

# පොතපතින් ඔබ්බට...



04 කොටස

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන්, හෙළ බොදු පියුම දහම් සඟරාවට විවිධ මාතෘකා ඔස්සේ කරුණු ලබාගැනීමේදී ප්‍රධාන කාරණාවලට අමතරව තවත් කුඩා අතුරු කාරණා ඔස්සේ යොමු කළ ගැටළුවලට, උන්වහන්සේ විසින් අතිරේක වශයෙන් ලබාදුන් වටිනා කෙටි පිළිතුරු සියලු පින්වතුන්ගේ අභිවෘද්ධිය උදෙසා මේ විදිහට සටහන් කරනවා.

## අපදන පාලිය - දෙවන භාගය

ධම්මරුචි ස්ථවිරාවදානය - 215 පිටුව

දීපංකර බුදු රජුන් කල සුමේධ තාපසව විවරණ ගත් තැන්හි සිට සිත පහදවාගෙන, මව්ද මරා අපාගත වී පසුව මේ කාලයේ මේ සාසනයේම රහත් වූ බව පෙන්වයි **(විශේෂ: බුද්ධ ශ්‍රාවකයන්ගේ මෙනෙහි කිරීමද, පෙර බොහෝ අනන්ත අතීතය දැකිය හැකි බවටද නිදසුනකි)**

කෝරන්ඩපුප්ඵිය ස්ථවිරාවදානය - 223 පිටුව

කිසිම පිනක් නොකර දඩයම්කරුවෙක් වූ කෙනෙක්, තිස්ස බුදු රජුන්ගේ පියසටහනක් කෙරෙහි පැහැදී මල් පූජා කළ පිනෙන් 92 කල්පයක් සුගතිගාමීව මෙකල සාසනයේදී නිවන් දුටු බව.

පුලිනථූපිය ස්ථවිරාවදානය - 229 පිටුව

අසා ඇති බුදුවරු උදෙසා වැලි සෑයක් කර බුදු රජුන්ටයයි සිතා ගෞරව කරමින් පූජා සත්කාර කරමින් සිට, බයක් තැති ගැන්මක් එනවිට බුදු රජුන් සේ එම වැලි සෑය සිහිකර ගෞරව සිතින් සිටි කෙනෙක් සාසන මාර්ගයට මුල පිරූ බවත්, කුඩා දඬු කඳක් ගෙන සාගරයට පැන වීයීයෙන් තරණය කළා සේ ඒ පින මුල්කර පටන් ගත් ගුණය නිසා, මෙකලද මේ සාසනයේදී බෝධියේ පොතුගෙන සෑයක් කර බුදු රජුන්ට මෙන් පූජා පවත්වමින් සිටි, මගඵල ලැබූ මව්පිය දෙදෙනෙකු ළඟ ඉපිද, එම සෑය දැක අනාදියෙහිදී තමන් විසින් කළ වැලි සෑයද සිහි වී ඒ තැන්හිදීම හත් අවුරුද්දෙන් රහත් වූ බවද, ඉන්පසු සැරියුත් තෙරුන් වෙතින් පැවිදි වී බුදු රජුන්ගෙන් එම වයසේදීම උපසපන් බව ලැබූ බවද මෙහි පෙන්වයි.

---

චුත වීමට ආසන්න වූ සක් දෙවිඳුන් බුදු රජුන් ඉදිරියේ බණ අසද්දී චුත වී ඒ සක් දෙව් භවෙහිම පටිසන්ධියට පත්වුවත්, සක් දෙවිඳුට ඒ කිසිවක් ගැන දැනීමක් සිදු වී නැති බැවින්, තමන් නොමළ බවත්, ශරීරය ප්‍රබෝධව ජීවිතය පවතින බවත් බුදු රජාණන් වහන්සේට කියා සිටි විට, මේ බණ අහන මොහොතේම ඔබ චුතව පටිසන්ධියද වූවයි දේශනා කළ සේක.

---

මේ සාසනයේ බුදු රජාණන් වහන්සේ හැර තනිව විදර්ශනා හෝ සමථ විදර්ශනා වඩා, බණ පදයක් නොඅසන මොහොතක සෝතාපන්න වූ කිසිවෙක් ගැන මා හට දැනගන්න ලැබී නැත.

පස්වග තවුසන් සෝතාපන්න වූයේ බණ අසන වෙලාවකය. යසකුල පුත්‍රයා ඇතුළු යහළුවන් පනස් හතර දෙනාද බණ අසා සෝවාන් විය. සැරියුත් මුගලන් අගසව් දෙනමද එසේය. එකල පටන් පෙනෙන නොපෙනෙන අනන්ත සත්වයෝ බණ අසාම සෝවාන් විය. දේශනා අවසානයේ සිය දහස් ගණන් අසංඛ්‍ය ගණන් දෙව් බඹුන් මාර්ගඵල ලැබූ බව සඳහන් වේ. මිහිඳු මහරහතන් වහන්සේ චුල්ල හත්ථි පදෝපම සූත්‍රයෙන් ධර්ම දේශනා කළ විට ඒ අසා අනුලා බිසව ඇතුළු පන්සියයක් අන්තඃපුර ස්ත්‍රීන් සෝවාන් වූ බව සඳහන් වේ.

ඛේමා, උප්පලවන්නා වැනි අය මෙන්ම තවත් බොහෝ අය ලෝකයේ නොයෙක් ස්වභාවයන් උපමා කරගනිමින් ජීවිතයේ නිසරුව වටහා ගන්නා මොහොතක් වුවහොත්, ක්ෂණයකින් බුදු ඇසට ලක් වී උන්වහන්සේගේ සාමුක්කංසික දේශනා ඍද්ධි බලයෙන් ශ්‍රවණය වන්ට සලසා මග ඵලවලට පත් කළ අයුරු දහමේ සඳහන් වෙනවා මිස, තනිවම සෝතාපන්න වූ කෙනෙක් ගැන කිසිම සඳහනක් පෙළ දහමින් නම් සෙවිය නොහැකිය. මෙය උගතුන්ගේ විමර්ශනයට ලක් වේවා. නිර්මල බුද්ධ වචනය මතු වේවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## සිරස් පත



මූර්ති ශිල්පීන් සහ චිත්‍ර ශිල්පීන් විසින් නිර්මාණය කරන ලද සමහර බුදු පිළිම වහන්සේලාගේ සහ බුද්ධ රූපවල බුදුන් වහන්සේගේ සිරස මුදුනින් ඉහලට එසවිච්ච සිරස් පතක් තියෙනවා. නමුත් ඒ මොකක්ද කියන්න බොහෝ පිරිසක් නිවැරදිව දන්නෙ නෑ. සමහරු ඒක කේශ ධාතුවේම කොටසක් හැටියට සලකනවා. නමුත් ඒ තියෙන්නෙ සහස්‍ර චක්‍රය. ඒ කියන්නෙ මනුස්සයෙක්ගෙ පිහිටල තියෙන චක්‍ර හතෙන් ඉහලින්ම පිහිටි චක්‍රය. ඒක කිරණමයයි. බුදුන් වහන්සේගේ ඒ සිරස් පත හෙවත් සහස්‍ර චක්‍රය නෙළුම් පොහොට්ටුවක් විහිදිලා යනවා හා සමානව ඒ කිරණ ධාරාව ෂඩ් වර්ණයෙන් පිහිටනවා. ඒක උන්වහන්සේ අධිෂ්ඨාන කරල පෙනෙන්න සැලැස්සුවොත් මිසක් සාමාන්‍ය කෙනෙකුට පිටින් පේන්නෙ නෑ. නමුත් දිවැස් ලාභීන්ට ස්වභාවයෙන්ම පේනවා.

හැබැයි දැනට දකින්න තියෙන බොහොමයක් පිළිමවල, චිත්‍රවල සිරස් පත බොහෝ දුරට නිවැරදි නෑ. මොකද නෙළුම් පොහොට්ටුවේ පෙති වගේ හතර පැත්තටම නැමිල විහිදිලා තියෙන විදිහට තමයි නිවැරදිව පිහිටන්න ඕන. නමුත් බොහොමයක් පිළිමවල, චිත්‍රවල එහෙම දකින්න නෑ. විශේෂයෙන් නුවර යුගයේ සමහරක් නිර්මාණවල නිකං ලැලි කෑල්ලක් වගේ, එහෙම නැත්නම් ගිනි සිළුවක් වගේ තියෙන්නෙ. ඒවා අඩු පාඩු සහිතයි. එච්චර ගැලපෙන්නෙ නෑ.

බුදුන් වහන්සේගේ කේශ ධාතුව දක්ෂිණාවර්තව කැරකිලා පිහිටන්නෙ. සියලු කෙස් ඒ විදිහට අඟල් බාගයක් විතර දකුණු අතට කැරකිලා මුදු වගේ රවුම් ගැහිල පිහිටන්නෙ. එතකොට උන්වහන්සේට වෙනත් භික්ෂූන් වහන්සේලාට වගේ හිස බූ ගාන්න අවශ්‍ය නෑ. මොකද බුද්ධත්වයට පත් වෙනකොටම උන්වහන්සේගේ අධිෂ්ඨාන බලයෙන් ඒ ප්‍රමාණයෙන් නැවතිලා තියෙන්නෙ. වැඩෙන සීමාවක් තියෙනවා. ඒ සීමාවෙන් එහාට වැඩෙන්නෙ නෑ. උදාහරණයක් විදිහට අපේ ඇහි පිහාටු ගත්තොත් ඒවා නිතරම වැඩෙන්නෙ නෑ, කපන්නෙත් නෑ. මුළු ජීවිත කාලයේම ඇහි පිහාටුවක් අඟල් භාගයකට වඩා වැඩිල නෑ, ඒ සීමාවෙන් නවතිනවා. ඒ වගේ බුදුන් වහන්සේගේ කේශ ධාතුවේ ප්‍රමාණය වෙනස් වෙන්නෙ නෑ.

## උන්ඩුක පුච්චය

දැන් කාලයක පටන් උගන්වන නවීන විද්‍යාව අනුව, මනුස්ස ශරීරයේ තියෙන උන්ඩුක පුච්චය කියන්නෙ නිකම්ම නිකං අසූචි මල්ලක්. ඒකෙන් ඒ තරම් වැදගත් වැඩක් වෙන්නෙ නෑ කියනවා. මොනව හරි හේතු මත ඕකෙ අපද්‍රව්‍ය පිරුණම සැත්කමකින් කපල ඉවත් කිරීම තමයි එකම විසඳුම කියන්නෙ. නමුත් **පටිච්ච සමුප්පාදය අනුව, හේතු ඵල න්‍යාය ධර්මය අනුව ගොඩනැගෙන මනුස්ස ශරීරය ගත්තම, යම්කිසි ඉන්ද්‍රියක් ශරීරයට අනවශ්‍ය නම් එහෙම එකක් හැම මනුස්සයෙක්ගෙම ශරීරයේ හට ගන්න විදිහක් නෑ. අනවශ්‍ය දෙයක් එහෙම හටගත්ත කිව්වොත්, ඒක ගෙඩියක් පිළිකාවක් වගේ රෝගයක් මිසක් ශරීරයේ ඉන්ද්‍රියක්/ අවයවයක් වෙන්නෙ නෑ. එතකොට කිසිම ඉන්ද්‍රියක් නිකං හට ගන්නෙ නෑ. හේතු ඇතිවමයි හටගන්නෙ.** නමුත් හැම එකක්ම වෛද්‍ය විද්‍යාවට අහු වෙන්නෙ නැති නිසා ඕක තෝරගන්න බැරි වුණාම, නිකං වැඩක් නැති අසූචි මල්ලක් විදිහට සලකල ඉවත් කරනවා.

හැබැයි මේ වෛද්‍ය විද්‍යාවෙන්වත් තවමත් හොයාගෙන නැති කාරණයක් මේ උණ්ඩුක පුච්චයෙන් සිද්ධ කරනවා. විශ්වය අතැඹුලක් සේ දකින්න පුළුවන් දිවැසිවරු නම් ඒ කාරණය දකිනවා. එහෙම අය නැති වුනාම ලෝක සම්මතයේ විද්‍යාඥයන් කියන දේවල් තමයි මිනිස්සු පිළිගන්නෙ. ඉතින් මේ **උන්ඩුක පුච්චයේ තියෙනවා රක්තාණු නිෂ්පාදනය කිරීමේ මූලික පදාර්ථයක්.** අන්න ඒ මූලික පදාර්ථය නිෂ්පාදනය වෙලා එක වතාවක් ශරීරගත වුනාම ඒක අවුරුදු 50 ක් විතර බලපැවැත්වෙනවා, ඉක්මනට ඉවර වෙන්නෙ නෑ. ඒ නිසා උන්ඩුක පුච්චය කැපුවත් අවුරුදු 50 ක් යනකල් ඒක නෑ කියල ශරීරයට දැනෙන්නෙ නෑ. අන්න ඒ නිසා තමයි උන්ඩුක පුච්චය කපල ඉවත් කළාට ගැටළුවක් නෑ කියල වෛද්‍ය විද්‍යාවෙන් නිගමනය කරල තියෙන්නෙ. කැපුවට ගානක් නැත්තෙ ඒකයි. හැබැයි අවුරුදු 50 ක් විතර ගියාට පස්සෙ ඒකෙ අඩුපාඩුව එන්න පටන් ගන්නවා. ඊට පස්සෙ ලේවල රක්තාණු නිපදවීම අඩුවෙනවා. නමුත් ඉතින් ඒ හේතුවෙන් ඒ අඩුව සිද්ධ වුණා කියන්න කවුරුවත් දන්නෙ නෑ. වෙන හේතුවකින් එහෙම වෙනව කියල තමයි ඊළඟට නිගමනය කරන්නෙ.

ඉතින් කෙනෙක්ගෙ මේ උන්ඩුක පුච්චය කියන ඉන්ද්‍රිය ඉපදුන හැටියෙම කපල දාන්නෙ නෑ. යම්කිසි වයසක් ගිහින් අර විදිහට අපද්‍රව්‍ය පිරුනොත් තමයි කපල ඉවත් කරන්නෙ. එතකොට ඉතින් එතැන් පටන් අවුරුදු 50 ක් ගියාම සමහර විට ඒ මනුස්සය ජීවතුන් අතර නැති වෙන්නත් පුළුවන්. උදාහරණයක් විදිහට කෙනෙක්ගෙ වයස අවුරුදු 50 දි ඕක කපල ඉවත් කළා නම්, අවුරුදු 100 ක් යනකල් අද මනුස්සයෙක් ජීවත් වෙනවා කියන්න බැරි නිසා, ඒ බලපෑම තේරුම් ගන්න අවස්ථාවක් ලැබෙන්නෙ නෑ.

කොහොම හරි මේ උන්ඩුක පුච්චය අවශ්‍ය නෑ කියන්නෙ හරි නිගමනයක් නෙවෙයි. කවුරුහරි ලෝක සම්මත වෛද්‍ය විද්‍යාවෙන් කිව්වොත් ඕක වැඩක් නැති අසූචි ගබඩාවක් කියල, එතැන් පටන් ඒකම තමයි ලෝකයා පිළිගන්නෙ. ඊට පස්සෙ ඉතින් මොන විදිහකින් වෙනත් මොන දේවල් දැන ගෙන ගියත් එතැනින් එහාට යන්න බෑ. ඊට පස්සෙ ඒ තත්ත්වයට කොටුවෙනවා. වැරදි නිගමනවලින් එන ප්‍රතිඵලත් වැරදියි. ඒ නිසා උන්ඩුක පුච්චය එහෙම කපල ඉවත් කරන්න සුදුසු නෑ. මොකද ඕක මහ බඩවැලටත් සම්බන්ධයි. කැපුවොත් ඒක මහ බඩවැලටත් නරක විදිහට බලපානවා. ඊට පස්සෙ මහ බඩවැලට නියමිත තැන නොලැබුණොත් ඒක අනෙක් පද්ධතිවලටත් බලපානවා. නමුත්

ඒ බලපෑම ඒකෙන් සිද්ධ වුණා කියල තේරෙන්නෙ නෑ.

ඉතින් මේ උන්ඩුක පුච්චයේ අපද්‍රව්‍ය හිර වෙනවා කියන එක අද ඊයෙ මනුස්සයන්ගෙ සිද්ධ වෙච්ච දෙයක් නෙවෙයි. ඉස්සර එහෙම සිද්ධ වුණ අය හිටියෙ නැත්ද? හැබැයි ඕක කපල දාන්න පටන් ගත්තෙ මේ මෑතකදි. මොකද **ඉස්සර අපේ තිබ්බ්ච හෙළ වෙදකමින් ශරීරයේ සියලු අපද්‍රව්‍ය ඉවත් කරන ක්‍රමවේද තිබුණා. ළය විරේක, බඩ විරේක කියන්නෙ ඒ වගේ සාර්ථක ක්‍රම දෙකක්. ඒකෙන් ශරීරය සුද්ධ වෙනවා. බඩ විරේකයෙදි මහ බඩවැල විතරක් නෙවෙයි, ඊට අමතරව උන්ඩුක පුච්චයත් මිරිකිලා ඒකෙ තියෙන අපද්‍රව්‍යත් ඇදිල එනවා.** මනුස්සයාගේ ශරීරයේ ආහාර දිරවීමේ ක්‍රියාවලිය, බඩවැලේ ක්‍රියාවලිය මූලික වශයෙන්ම කර්ම ශක්තියෙන් තමයි පාලනය වෙන්න. ඒක අනිච්ඡානුගයි. ඒ කර්ම ශක්තියෙන් සිද්ධ කරන ක්‍රියාවලියට උදව්වක් තමයි බේත්වලින් සිද්ධ වෙන්නෙ.

ඉතින් ඔය වගේ අවස්ථාවක විනරාජ තෙලයෙන් විරේකයක් කරගත්තම ඒ අපද්‍රව්‍ය ඔක්කොම ගැලවිලා ඇදිල එනවා. ඊට පස්සෙ අක්කපාන කොළ ටිකක් ආහාරයට එකතු කරගත්තම තවත් සුද්ධ වෙලා යනවා. නමුත් ඔය ක්‍රමවේද හරියට කරගන්න අද ඉන්න උදවිය දන්නෙ නැති එකයි ගැටළුව. ඒ දවස්වල මේ දහම් වැඩසටහන්වලට සහභාගි වෙච්ච මහත්තයෙක්ගෙ අවුරුදු අටක විතර ළමයෙකුට හැමදාම බඩේ කැක්කුමක් තිබුණා. ළමයා සැරින් සැරේ බඩ රිදෙනවා කියල විලාප දෙනවා. ළමයගෙ බඩේ නාභිය ළඟ වම් පැත්තෙන් ටිකක් ඉදිමිලා තිබුනලු. කොච්චර වෛද්‍ය ප්‍රතිකාර ගත්තත් හරි ගියේ නෑ. පරීක්ෂණ කරලත් විශේෂ රෝගයක් හොයාගෙන තිබුනෙත් නෑ. පස්සෙ මම කිව්වා, බත් කනකොට අක්කපාන කොළ දෙක තුනක් ලියල සම්බෝලයක් විදිහට හදල දෙන්න කියල. එහෙම වරු තුනක් විතර දෙන කොට අර කැක්කුම මුකුත් නැතුව ගියා. තිබ්බ්ච අපද්‍රව්‍ය ගැලවිලා ගිහින්. ඉතින් සුද්ධ වෙලාම යන්න වැඩිපුර දවස් ටිකක් දෙන්න කිව්වා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# දිවැස් සමාධියෙන් දුටු ශරීර ක්‍රියාකාරීත්වයෙන් බිඳක් ...

නිවන් මග වඩාගන්නත් කායික මානසික සුවය යහපත්ව තිබීම වැදගත්. අද කාලයේ ලෙඩ රෝග ඇතිකරන ප්‍රයෝග විපත්තියක් විදිහට මනුස්සයො කනබොන වස විස ආහාර ගැනත්, ඒවා ශරීරගත වෙලා ශරීරය අඩපණ කරන ආකාරය ගැනත් වහරක අභයරතනාලංකාර තෙරුන් වන්සේගෙන් අහපු ප්‍රශ්නයකට උන්වහන්සේ විසින් අමතරව ලබා දුන් කරුණු කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. වෛද්‍ය විද්‍යාවට සම්බන්ධ කිසිම විෂයක් හදාරල නැති, කවදාවත් විශ්ව විද්‍යාලයකට නොගිය උන්වහන්සේ, දියුණු කරන ලද භාවනා ශක්තියෙන් පහළ කර ගත් ඥානයන්ගෙන්, වෛද්‍ය විද්‍යාවටවත් හොයා ගන්න බැරිවෙච්ච දේවල් හොයාගෙන ලෝ සතුන්ගේ යහපත පිණිස ප්‍රකාශ කරල තියෙනවා. ඒ වගේම වෛද්‍ය විද්‍යාවේ දියුණු තාක්ෂණය භාවිතයෙන් හොයා ගන්න දේවල් පවා සමාධියෙන් දැකල ප්‍රකාශ කරල තියෙනවා. අධ්‍යාත්මික ශක්තියෙන් මිනිස් ශරීරයම විනිවිඳ දකින්න තරම් හැකියාවක් උන්වහන්සේට තිබුණා.

හැබැයි මේ විස්තරවල එන සමහර වචන ලෝක සම්මත විද්‍යාවේ එන වචනවලට වඩා වෙනස් වෙන්න පුළුවන්. මොකද උන්වහන්සේ සම්මත විද්‍යා විෂයන් හදාරල ඒ වචන ඉගෙන ගෙන තිබුනෙ නැති නිසා. ඒ වුනත් සාමාන්‍ය ගැමි භාෂාවෙන් ගමේ ගොඩේ අයටත් තේරුම් ගන්න පුළුවන් විදිහට උන්වහන්සේ ඒවා විස්තර කරල තියෙනවා. ඉතින් මේ හෙළිදරව් කිරීම වෛද්‍ය විද්‍යා අංශයෙන් විවිධ පරේයේෂණ කරන, අධ්‍යාපනය හදාරන අයටත්, ලෙඩ රෝගවලින් ආරක්ෂා වීම සඳහා අනික් හැමෝටමත් යම්කිසි විදිහකින් ප්‍රයෝජනවත් වේවි. මේ හා සම්බන්ධ ලිපි කිහිපයක් මීට පෙරත් හෙළ බොදු පියුම 14, 33, 59 කලාපවල පළ කරල තියෙනවා. ඒ නිසා ඒවායේ නොකිය වෙච්ච තවත් විස්තරයක් ඉතාමත් කෙටියෙන් තමයි මේ සටහන් කරන්නෙ.

වස විස කැවුණම ඉස්සෙල්ලම ශරීරයේ තියෙන සෙම නරක් වෙනවා. ඊට පස්සෙ ඒක ඇලදිවට මූලිකවම බලපාල යම්කිසි මෙල්ල කිරීමක් කරනවා. ඇටමිදුළුවලින් නිෂ්පාදනය කරන හෝමෝනවලට, ශක්තියට විරුද්ධව බලපෑමක් ඇති කරනවා. බාහිරින් එන විස ඒවායේ ක්‍රියාකාරිත්වයට බලපෑමක් ඇති කරනවා. ඒ බලපෑම ඇති කළත් කොහොමහරි ඇලදිවෙන් ඒ ශක්තිය දෙන්න උත්සාහ කරනවා. ඒත් ඒ ශක්තිය විසවලින් පාලනය කරනවා, මැඩ පවත්වනවා. එතකොට ඇලදිව දුර්වල වෙනවා. ඔහොම යනකොට ඒ විස ලේවලට සම්බන්ධ වෙලා ලේත් එක්ක ගිහින් ඇටවලට සහ ඇට මිදුළුවලටත් කොටසක් ගමන් කරනවා. ඒකෙන් ඇටමිදුළු දුර්වල කරනවා. එතකොට ඇටමිදුළුවල නිර්නාල ග්‍රන්ථි වශයෙන් නිපදවන හෝමෝන නවත්වන්න, අඩු කරන්න පටන් ගන්නවා. ඒකෙන් ස්නායු ප්‍රබෝධමත් කරන ශක්තිය ලේවලට නොදී ඉන්නවා. එතකොට ක්‍රමයෙන් ස්නායු දුර්වල වෙනවා. ඒ නිසා ස්නායු මුල් කරගෙන වැඩ කරන සියලු ඉන්ද්‍රිය පද්ධති දුර්වල වෙන්න පටන් ගන්නවා. ඒ දුර්වලවීම නිසා තමයි අනික් සැරේ ඉන්සියුලින් නිපදවන්නෙ නැතිව යන්නෙත්.

මෙතැනදි ඇලදිවෙන් කරන එක කටයුත්තක් තමයි, ස්වයංක්‍රීයව ශරීරයේ තියෙන අමතර පෝෂණය ගබඩා කරල අවශ්‍ය වෙලාවට නැවත නිකුත් කිරීම. ඒ කාරණය ක්‍රමානුකූලව අවශ්‍ය ප්‍රමාණයට සමතුලිතව සිද්ධ කරනවා. ඒ සිද්ධ කරන්නෙ මේ ස්නායු පද්ධතියේ ක්‍රියාකාරිත්වය එක්ක. පෝෂණය වැඩිනම් ඇදල අරගෙන අවශ්‍ය වෙලාවට නැවත දෙනවා. ස්නායු පද්ධතිය දුර්වල වුනාම මේ ක්‍රියාවලිය නවතින්න ගන්නවා. එතකොට වැඩිපුර පෝෂණය දුන්නොත් ලේවලින් ඒ වැඩිපුර පෝෂණය උරා ගෙන

ලේ වලම තියා ගන්නවා. ඒ නිසා ලේවලට පෝෂණය වැඩි වෙනවා. දැන් වැඩියෙන් ආහාර ගත්තොත් එහෙම දරන්න බැරිව යනවා. ඒ නිසා තමයි සීනි වැඩි වෙනවා කියන්නෙ. වැඩි සීනි, තෙල් සියල්ල ගිහින් තැන්පත් කර ගැනීම අඩපණ වෙනකොට, දැන් අවශ්‍ය වෙලාවට ශක්තිය ඇදල අරගෙන ගබඩා කරගෙන නිදහස් කරන ක්‍රියාවලිය කෙරෙන්නෙ නැතිව යනවා. ඒ නිසා බාහිරින් ගන්න ආහාරවලින් මේ සියල්ලම පාලනය කරන්න සිද්ධ වෙනවා. එහෙම නැත්නම් ඊට කලින් නම් කිසි ගානක් නෑ, ඕන දෙයක් කෑවා බිව්වා. මොකද අර යාන්ත්‍රණය ක්‍රියාත්මක වෙලා අමතර පෝෂණය ඇදල ගබඩා කරගෙන අවශ්‍ය වෙලාවට සපයන නිසා වැඩිපුර ගත්ත කියල ගැටළුවක් වුණේ නෑ.

ඉතින් මේ වස විස ක්‍රියාකාරිත්වය නිසා ඇලදිවෙන් (අග්න්‍යාශය, අක්මාව, පිත්තාශය ඇතුළු ඒ ආශ්‍රිත කොටස්) දෙන ශක්තිය ක්‍රියාත්මක කරන්න බැරිව යනවා. බාහිරින් එන විස ප්‍රතික්‍රියා කරනවා. පළමුවෙන්ම අග්න්‍යාශය ඇතුළු ඇලදිවට බලපාල ඊට පස්සෙ කාලයක් යනකොට ලේත් එක්ක ඇටමිදුළුවලට ගිහින් විසබීජයක් වගේ ජය ගන්නවා. බරපතළ තත්ත්වය තමයි ඇටමිදුළුවලින් පස්සෙ ආහාර මාර්ගයට පහරදීම. යුද්ධයක් කරන සෙබළුන්ට ආහාර සැපයීමට පහර ගහනවා වගේ වැඩක් තමයි එතකොට වෙන්නෙ. සෙබළුන්ට ආහාර ලැබෙන කල් සෙබළු සටන් කරනවා. හැබැයි අනික් පැත්තෙන් එන වෙඩි වරුසාව සටන් කරන්න බාධකයක් වෙනවා. ඒක මහන්සියක්. ඉතින් ඔහොම ගිහින් ආහාර මාර්ගයට පහර දෙනකොට මොකවත් කරගන්න බැරිව දුර්වල වෙනවා. අන්න එහෙම දෙයක් දෙවැනි වතාවට සිද්ධ වෙනවා. ඊට පස්සෙ තමයි වකුගඩු නරක් වෙන්න පටන් ගන්නෙ.

දැන් මෙතැනදි කාරණා දෙකක් සිද්ධ වෙනවා. එකක් තමයි ඒ විස නිසා වන මූලික නරක් වීම. වෙඩි වරුසාවකින් පිරිස නැගිටින්න නොදී පාලනය කරනවා වගේ ඒ අවස්ථාවෙදි තමයි තාවකාලික ප්‍රතිකර්මයක් හරියන්නෙ. ඒ වගේ එකක් තමයි හෙළ වෙදකම මුල් කරගෙන කොස් මුලෙන් හදල දෙන බෙහෙත. (මේ බෙහෙත 33 වන කලාපයේ පළ කරල තියෙනවා) එතකොට අග්න්‍යාශය ඇතුළු ඇලදිවේ ක්‍රියාකාරිත්වය අක්‍රිය වීම ඉවත් වෙනවා. හැබැයි එහෙම වෙන්නෙ ඒ විස ඇටමිදුළුවලට යන්න පෙර. ඇට මිදුළුවලට ගියාට පස්සෙ ඒ පළවෙනි බෙහෙතින් නතර කරන්න බෑ. එතකොට හොඳටම දුර්වලයි. ඒ නිසා ඒ අවස්ථාවෙදි ඇටමිදුළුවලට හරියන බේතක් දීල ඒකෙන් විස අදින්න ඕන. ඒ විස ඇදල අරගෙන මැරුවට පස්සෙ නැවත ඇටමිදුළු ක්‍රියාත්මක වෙනවා. නැවතත් ස්නායු ක්‍රියාත්මක වෙලා ඇලදිව ක්‍රියාත්මක වෙන්න ගන්නවා. ඒ විතරක් නෙවෙයි හදවත, නහර පද්ධතිය ඇතුළු සියල්ලම ක්‍රියාත්මක වෙන්න ගන්නවා. ඇටමිදුළු පද්ධතියේ තමයි ස්නායු ක්‍රියාත්මක කරන හෝමෝනය නිපදවන්නෙ. ඒ වගේම මස්තිෂ්ක සුසුම්නා තරලයේ ඇට මිදුළුවලට සම්බන්ධ විශේෂ ක්‍රියාකාරීත්වයක් තියෙනවා. එතැනදි තවමත් වෛද්‍ය විද්‍යාවෙන් හොයා ගත්තෙ නැති කොටසකුත් තියෙනවා. නමුත් කවද හරි හොයා ගනියි.

එතකොට දෙවැනි බෙහෙත දුන්නට පසු සියලු රෝග අඩු වෙලා දුරුවෙලා යන්න ගන්නවා. ඒ තමයි ඉඟුරු මී පැණි බෙහෙත. (මේ බෙහෙත 89 වන කලාපයේ පල කරල තියෙනවා) ඒ නිසා පළවෙනි බෙහෙත ගත්තට පසු රෝගී තත්ත්වය අඩුවෙන බව දැනෙනව නම් විස ඇට මිදුලුළුවලට ගිහින් නෑ. අඩු වෙන බවක් පේන්නෙ නැත්නම් ඇට මිදුළුවලට විස වැදිල තියෙන්නෙ. ඒ නිසා ඒත් එක්කම දෙවන බේතත් මාස 3-6 ක් විතර අරගන්න ඕන. හැබැයි මේ බෙහෙත් වර්ග දෙක ප්‍රත්‍ය වෙන්නෙ වසවිස ශරීරගත වීමෙන් හැදෙන දියවැඩියාව හා ඒ ආශ්‍රිත රෝග සම්බන්ධයෙන් විතරයි. පරම්පරාවෙන් එන කර්මජ දියවැඩියාවට මේක හරි යන්නෙ නෑ. ඒ වගේම කෙනෙක්ගෙ කර්ම වේගයත් මේ බෙහෙත ප්‍රත්‍ය වෙන්න බලපානවා. ඒ නිසා කර්මවේග ගෙවාගන්න සාසනික වශයෙන් ප්‍රතිකර්මත් කරගන්න වෙනවා. මොකද ඒකත් භෞතික කයේ ක්‍රියාකාරිත්වයට බලපානවා.

ඒ වගේම මේ පළවෙනියට එන සාමාන්‍ය රෝගී තත්ත්වයේදි නම් ආහාර පාලනය කරන්න අවශ්‍ය නෑ. නමුත් අසාධ්‍ය තත්ත්වයේදි යථා තත්ත්වයට පත් වෙනකල් ආහාර පාලනය කරන්න වෙනවා.

දැන් වස විස ක්‍රියාකාරිත්වයේදි ස්නායු පද්ධතිය දුර්වල කරනකොට ඉස්සෙල්ලම ආහාර ජීර්ණ පද්ධතියට බලපාන්න පටන් ගන්නවා. මෙතැනදි තවමත් වෛද්‍ය විද්‍යාවෙන් හොයාගත්තෙ නැති කොටසක් තියෙනවා. මහ බඩවැලේ ගුදිරිවල ක්‍රියාකාරිත්වයක් තියෙනවා. රළි වගේ, ගැටිති වගේ තියෙන්නෙ ඒ ගුදිරි කියන ඒවා. ඒවායේ ග්‍රන්ථි තියෙනවා. ශරීරයේ හැම ඉන්ද්‍රියකම සිවි සම්බන්ධයක් තියෙනවා. මේ කියන ග්‍රන්ථිත් ඒ සිවිවලට සම්බන්ධයි. මේ ඉන්ද්‍රියන්වල සනීභවන අපද්‍රව්‍ය කොටසක් තියෙනවා. ඒ තමයි මුත්‍රාවලින් ඉවත් කරන්න බැරි නරක් වෙච්ච මැරිච්ච සෛල ආදිය. ඒ අපද්‍රව්‍ය සියල්ල අර සිවි අතරින් දියරයක් තුළින් ගුදිරිවලට ගෙනියනවා. ඒවායින් පෙරීමේ ක්‍රියාවලියක් සිද්ධ වෙනවා. මහ බඩවැලට වතුර දුන්නොත් ඒ වතුර සිවි අතරින් ඔය හැම ඉන්ද්‍රියකම සිදුරු අතරට යවල ඒ ඉන්ද්‍රියන්වල තියෙන සනීභවන කාබනික අපද්‍රව්‍ය අරගෙන ඇවිත් නැවත ගුදිරිවලට දෙනවා. ගුදිරිවලින් නැවතත් මහ බඩවැලට ඇදල දෙනවා. මහ බඩවැලෙන් අසූචියට ඇදල දානවා. ඊට පස්සෙ මහ බඩවැල නැවතත් වතුර ටික ඇදගන්නවා. මේ හැම ක්‍රියාවලියකින්ම පෙරීමේ ක්‍රියාවලියක්, පිරිපහදු වීමක් තමයි සිද්ධ වෙන්නෙ.

ඉතින් අර ඇටමිදුළුවලින් දෙන රසායනය අඩුවෙන කොට ඒක ස්නායු පද්ධතියට බලපාල පළමුවෙන්ම ඔය ක්‍රියාවලිය අක්‍රිය වෙන්න පටන් ගන්නවා. එතකොට බඩ වේලෙන්න ගන්නවා. ඒ වෙලාවට ඉතින් මොනවා හරි කකා ඉන්නව මිසක් නියම ස්වභාවිකත්වයක් නෑ. ඒ වගේම ගන්න ආහාරය හරියට දිරවන්නෙ නැතිව යනවා. එතකොට සෙම නරක් කරනවා. ඒකෙන් ඉස්සෙල්ලම සෙම් රෝගයක් එනවා. බඩ අජීර්ණ කරනවා. කෑම අරුචිය එනවා. ඔක්කාරය එන්න පටන් ගන්නවා. බඩ, කට ගඳ ගහන්න ගන්නවා. ඔය විදිහට තමයි පටන් ගන්නෙ.

මේක සිද්ධ වුණාම සෙම බැඳිල ගුදිරි අක්‍රිය වෙනවා. අක්‍රිය වෙච්ච ගමන් අපද්‍රව්‍ය ගෙනියන්න තියෙන දෙවැනි බහිස්‍රාවී පද්ධතිය වන වකුගඩුවලින් මුත්‍රා පෙරීමේ ක්‍රියාවලියට වැඩ වැඩි වෙනවා. ඒ නිසා ඒකෙන් පෙරන්න සනීභවන අපද්‍රව්‍ය කොටස ගෙනියනවා. හැබැයි ගෙනිච්චට පෙරා ගන්න බෑ. ඒත් උත්සාහ කරනවා ඒ අපද්‍රව්‍ය කැලි කැලිවලට කඩන්න. ඒ විදිහට වකුගඩුවෙන් අපද්‍රව්‍ය කැබලි බිඳ බිඳ පෙරනකොට තව තවත් වැඩියෙන්

අපද්‍රව්‍ය එනකොට කරගන්න බෑ, හිර වෙනවා. එතකොට කාබනික අපද්‍රව්‍යත් එක්ක බැඳෙනවා. ඒකෙන් වකුගඩු ක්‍රමයෙන් අක්‍රිය වෙනවා. එතකොට අර විස තවත් වැඩි වෙනවා. ඒත් එක්කම ඇලදිවත් අක්‍රිය වෙන්න ගන්නවා. ඒ සියල්ලම එකට එන්නෙ. රුධිර කාන්දුම් පෙරණය හෙවත් ඩයලයිසිස් කරනකොට හුඟක් දුර ගිහින්.

ඊළඟට හදවතත් එක්ක වැඩ කරන නහර පද්ධතිය දුර්වල කරන්න පටන් ගන්නවා. එතකොට නහර පද්ධතියේ ක්‍රියැටිනින් වගේ අපද්‍රව්‍ය වැඩි වෙන්න ගන්නවා. කැල්සියම් ඇතුළු අපද්‍රව්‍ය සියල්ල මේ හරහා අරගෙන ගියත් ඒවා දිරවන්න බැරිව යනවා. ඒ සියල්ලම සෙලවලට බාර ගන්න බෑ. එහෙම වුනාම ලේවලට එකතුවන අපද්‍රව්‍ය ප්‍රමාණය වැඩිවෙනවා. එතකොට කරන්න දෙයක් නෑ. ලේවලින් අරගෙන නහරත් දුර්වල කරනවා. අපද්‍රව්‍ය නියම විදිහට පෙරෙන්නෙ නැතිව යනවා.

හදවතින් මේ සඳහා බලයක් දෙනකොට නිකම්ම නහර දිගේ දුවනවා නෙවෙයි. නහරවලිනුත් ඒ වගේම තල්ලුවක් දෙනවා. හදවත ඇරිල වැහෙනකොට නහරත් උණ්ඩි වෙලා ඇරෙන ක්‍රමයක් තියෙනවා. උදාහරණයක් විදිහට කුඩැල්ලෙක් ලේ බොනකොට කටින් ගන්න ලේ ටික ඌ පිටිපස්සෙන් යවන ක්‍රමයක් තියෙනවා. උගේ තියෙන රැල්ලෙන් තමයි ඒක පිටි පස්සට තල්ලු කරන්නෙ. අන්න ඒ වගේ හදවතින් පීඩනය දුන්නට පස්සෙ කෙළවරට යනකල්ම තල්ලු කරන ක්‍රමයක් තියෙනවා. ඒ ක්‍රමවලට ධමනිවලට තල්ලු කරල දෙනවා. ධමනි ගැස්සෙන්නෙ ඒකෙන්. එහෙම නැතිව හදවතින් දෙන ශක්තියෙන් විතරක් නෙවෙයි ගැස්සෙන්නෙ. ධමනි අල්ලනකොට ගැස්සෙනවා දැනෙන්නෙ ඒකයි. මොකද මුළු නහර පද්ධතියම එක දිගට බැලුවොත් හැතැප්ම ගණනාවක් දිගයි. ඒ සියල්ලේම වර්ගඵලය බැලුවොත් එකතුව මහා විසාල ප්‍රමාණයක්. හදවතින් දෙන බලයෙන් විතරක් එච්චර දුරකට, එච්චර වර්ග ප්‍රමාණයකට ගෙනියන්න බෑ. හදවතින් දෙන පීඩනය මදි. ඒ නිසා ඒ පීඩනයට අමතරව නහරවලිනුත් පීඩනයක් ඇති කරනවා. ඒ නිසා කිසි අමාරුවක් නැතිව ලේ ගමන් කරනවා. අනික් පැත්තෙන් ආපසු අරගෙන එනවා. ඒකත් වෙනම ක්‍රමයකට පිහිටනවා.

මේ පීඩනය සම්බන්ධයෙන් මොලයේ ශිරාවලට වෙනම කේශනාලිකා තියෙනවා, ස්නායු තියෙනවා. ධමනි වැඩ කරන්න වෙනම ස්නායු තියෙනවා. ඒක වෙනම අංශයක්. හදවත වැඩ කරන්න ප්‍රධාන වශයෙන්ම කර්ම ශක්තියේ සම්බන්ධයක් තියෙනවා. ඒකට මොළයේ සම්බන්ධයක් නෑ. මොළයේ සම්බන්ධයක් තියෙන්නෙ අතුරු ඒවාට. හැබැයි ඔය දෙකේම එකිනෙකට සම්බන්ධයකුත් තියෙනවා. නමුත් මොළයේ සෛලවල කෙලින්ම සම්බන්ධයක් හදවතට නෑ. කෙනෙක් හදිසියේ බෙල්ල කපල මැරුවොත් ටික වෙලාවක් යනකල් හදවත වැඩ කරනවා. මොලේ කෙලින්ම හදවතට සම්බන්ධ නම් බෙල්ල කැපුව මොහොතෙම ඇහිපිය ගහන මොහොතින්ම හදවත නවතින්න ඕන. නමුත් එහෙම වෙන්නෙ නෑ. ඔය සමහර පරීක්ෂණවලදි ගෙම්බෙකුට සිහි නැති කරල උගේ බෙල්ල කැපුවොත් හදවත ටික වෙලාවක් යනකල් වැඩ කරනවා. ගෙම්බට සිහි නැති කරල මොළය අයින් කළොත් එතකොට මොළය වැඩ නෑ. නමුත් හදවත වැඩ.

ඔය ක්‍රමය තමයි මනුස්සයෙක්ගෙ තියෙන්නෙත්. බෙල්ල කපන්නෙ නැතිව මොලේ සෛල ගලවල අයින් කළොත් එහෙම හදවත වැඩ කරනවා. ඒ කියන්නෙ මොළයේ සම්බන්ධයක් නැතත් හදවත වැඩ කරන ක්‍රමයක් තියෙනවා. මොකද **හදවතේ ක්‍රියාකාරීත්වය කර්ම ශක්තියෙන් ක්‍රියාත්මක වෙන්නෙ. හෘද රූපය වැඩ කරන්නෙ ඒ ශක්තියෙන්. ගන්ධබ්බයෙක්ගේ ක්‍රියාකාරීත්වය එක්ක කර්ම ශක්තියත් ඒකට සම්බන්ධයි. ඒ නිසා මස් ලේ කයින් ගන්ධබ්බයෙක් අහක් වුණත් හදවත වැඩ කරනවා. ඒ කියන්නෙ හැබැයි මස් ලේ කය සහ සූක්ෂම කය අතර සම්බන්ධය පවත්වන රිදී රැහැන හෙවත් silver code කියන එක තියෙනකල් විතරයි. ඒක කැඩුනොත් හදවතත් නවතිනවා. එතකල් ගන්ධබ්බය මස් ලේ කයින් පිට වුණත් හදවත වැඩ කරනවා.** අර රැහැන කැඩුණයි කියන්නෙ මැරුණ කියන එක. ඒ කියන්නෙ හදවතේ සම්බන්ධය ඉවරයි. එතකල් මැරිල නෑ, හදවත වැඩ කරනවා. ඒක ඇහැට පේන්නෙ නෑ. හදවත වැඩ කරන්නෙ බොහොම හෙමින්. ඒක සමහරවිට සංඥා වැඩ කරන සියුම් උපකරණයකට තමයි අහු වෙන්නෙ. එහෙම නැතිව නිකං නලා තියල හොයන්න බෑ. කෙනෙක් මැරිලද කියල එහෙම හොයන්න බෑ. නාඩි අල්ලල හොයන්න බෑ. නාඩි වැඩ කළේ නැතත් මැරිල නැතිවෙන්න පුළුවන්. ඒක හරියටම හොයාගන්න තමයි වෙඬරු තියන්නෙ. ඉස්සර කෙනෙක් මැරිලද කියල හරියටම හොයා ගත්තෙ ඒ ක්‍රමයට. වෙඬරු ටිකක් පපුවේ තිව්වම දිය වෙනව නම් මැරිල නෑ. මැරිල නැත්නම් තේජෝ ධාතුව තියෙනවා. ඒ රස්නයට වෙඬරු දියවෙනවා. හැබැයි ඒ වෙලාවෙ හදවතේ පිටට දැනෙන කම්පනයක් නෑ. ඒ කම්පනය සාමාන්‍ය උපකරණයකට පවා අහුනොවෙන මට්ටමට හොඳටම අඩු වෙලා තියෙන්නෙ.

**නිරෝධ සමාපත්තියට සමවැදිච්ච අරිහතුන් වහන්සේගේ තේජෝ ධාතුව තියෙනවා. හැබැයි හදවත වැඩ කරන්නෙ නෑ. ඒ කියන්නෙ අතින් අල්ලල හෝ සියුම් උපකරණයකින් හෝ බැලුවොත් හදවත නතර වෙලා.** නමුත් ඒ වෙලාවෙ වෙඬරු ටිකක් තිව්වොත් දියවෙනවා. එතකොට නිරෝධ සමාපත්තියට සමවැදිච්ච අරිහතුන් වහන්සේ නමකගේ ශරීර උෂ්ණත්වය සාමාන්‍ය මනුස්සයෙක්ගෙ ශරීර උෂ්ණත්වයේම පවතිනවා. ඒ උෂ්ණත්වය පරිසර උෂ්ණත්වයට අඩු වෙන්නෙ හෝ සමාන වෙන්නෙ නෑ. කෙනෙක් මැරුනොත් තමයි ශරීර උෂ්ණත්වය අඩු වෙලා ගිහින් පරිසර උෂ්ණත්වයට සමාන වෙන්නෙ. කෙනෙක් මියගිහින් ටික වෙලාවක් යනකොට ඇඟ සීතල වෙලා ගල්වෙන්නෙ ඒකයි. නමුත් මේ **නිරෝධ සමාපත්තිය කියන අති විශේෂ අවස්ථාවෙදී හදවත වැඩ නොකරන නිසා වෛද්‍ය විද්‍යාවට අනුව කියන්න වෙන්නෙ ඒකාන්තයෙන් මළා කියල. මොකද ඒක භෞතික මොනම ක්‍රමයකටවත් අහුවෙන්නෙ නෑ. නමුත් අරිහතුන් වහන්සේ නැවත නිරෝධ සමාපත්තියෙන් නැගිටිනකොට නැවතත් හදවත වැඩකරන්න ගන්නවා.** හුස්ම වැඩ කරන්න ගන්නවා. හතරවෙනි ධ්‍යාන සමාපත්තියට සමවදින කල් හුස්ම වැඩ කරනවා. ඊට පස්සෙ හුස්ම වැඩ කරන්නෙත් නෑ. නමුත් නොදන්නා අය මැරිල කියල තමයි තීරණය කරන්නෙ. ඉතින් මේ වගේ දේවල් තවමත් වෛද්‍ය විද්‍යාවට අහු වෙලා නෑ. නමුත් දිවැස් සමාධිවලට ඔය කාරණය අහුවෙනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගය ඇතුළු තවත් රෝග රැසකට ප්‍රත්‍ය බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප දහයෙන් (88, 89, 90, 91, 92, 93, 94, 95, 96, 97) හඳුන්වා දුන්නා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වස විස කැවීම නිසා හට ගත් ආබාධ ඇතුළු තවත් රෝග රැසකට උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් ප්‍රත්‍ය ඖෂධ කිහිපයක්.

ඒ වගේම **විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ ඖෂධ හදාගෙන පාවිච්චි කරන්න පෙර, රෝගවලට මුල් වුන කර්මවේග යම් පමණකට හෝ ගෙවා හරින්න, මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න** (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාමයි හට ගන්නෙ. ඒ විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බේත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒ වගේම විශේෂ ආශිර්වාද පූජාවන්ට, විශේෂ පුණ්‍යානුමෝදනාවන්ට සහ ආර්ය මෙත් භාවනා වැඩසටහන්වලට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. ඒ නිසා ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න කටයුතු කරන්න. ඒ විදිහට මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කරන්න. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ **මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.**

ඒ වගේම මේ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදිමත්, ඒ බෙහෙත් හදන අවස්ථාවලදිත්, මේ සඟරාවෙන් මීට පෙරත් විවිධ අවස්ථාවලදි සඳහන් කරල තියෙන දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. මේ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා ඒ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්නත් පුළුවන්. පින්වතුන්ගේ පහසුව පිණිස මේ සඟරාවේ සඳහන් කරන ප්‍රබල බෙහෙත් වර්ග සමහරක් දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.

## මානසික ආබාධ ඇතුළු රෝග රැසකට සප්ත පුෂ්ප ගුලි/පෙති

රතු නෙළුම් රේණු, සුදු නෙළුම් රේණු, රතු ඕලු රේණු, සුදු ඕලු රේණු, මානෙල් රේණු, නාමල් රේණු, සමන්පිච්ච මල් කියන මේවා වියලි බරින් ග්‍රෑම් 100 බැගින් අරගෙන කුඩුකර ගන්න. ඒ මල් වර්ග හතෙන්ම අමු මල් ග්‍රෑම් 200 බැගින් අරගෙන කොටාගෙන මිරික ගන්න. ඉන් පසු ඒ ඉස්මෙන් ඉහත කුඩු ටික අඹර ගෙන ලිපේ තියල සෙල්සියස් අංශක 50ට අඩු උෂ්ණත්වයෙන් හිඳ ගන්න.

හොඳින් දිය හිඳුනට පසු, කරවෙන්න නොදී පවනේ වේල ගෙන පිරිසිදු එළඟි තෙල් බෝතල් කාලයි, පිරිසිදු මී පැණි අවුන්ස අටයි එකතු කරල මිශ්‍ර කරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරගෙන, එහෙම නැත්නම් ඒ ප්‍රමාණයටම පෙති විදිහට හදාගෙන සෙල්සියස් අංශක 40 හෝ පවනේ වේලා ගන්න.

දිනපතා රාත්‍රී නින්දට පෙර ගුලි එකක් අරගෙන ඇල් වතුර ටිකක් බොන්න.

**මේ මගින්, නිතර හිත පෑරෙන ගති ඇති වෙන, අන් අයට බනින්න දොස් කියන්න හිතෙන, අන් අයගේ ගුණ නොරුස්සන මානසික ආබාධ දුරු වෙනවා. මේ ගුලි මාස තුනක් පමණ පරිහරණය කිරීමෙන් නිතර හිතේ ප්‍රබෝධය ඇතිවෙනවා. මලක් වගේ පැහැපත් ස්වභාවයෙන් ඉන්න ආසාව ඇතිවෙනවා. එතකොට අන්‍යයන්ගේ හිත නොරිදවා සතුටු කරවීම තමන්ට මහත් සතුටක් විදිහට වැටහෙනවා. මෙලොව පරලොව දෙකටම යහපත් වෙනවා.**

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ සමාධියෙන් දුටු දර්ශනය අනුව මේ ආබාධයට හේතුව තමයි, මොළයේ ඉදිරිපස වම් පැත්තට බරව පිහිටල තියෙන ස්නායු තන්තු තුනක් ක්‍රමානුකූල නොවීම. ඒ නිසා සුළු සිත්තැවුලක් ආවත්, මේ ස්නායු එකට ඇඹරෙමින් දරන්න බැරි මානසික වේදනාවක් ඇති වෙනවා. මේ බෙහෙතින් ඒ ස්නායු වටා තියෙන සියුම් සිවි ආවරණ පෝෂණය වීම නිසා නිතර මුදු පහසින් ස්පර්ශ වෙන්න පටන් ගන්නවා. එතකොට කෙනෙක් බැන්නත් හිනා යන ස්වභාවයක් ඇතිවෙනවා. හිත් රිදීම් එන්නෙ නැතිව යනවා. ශරීරයේ වියළි ස්වභාවය සමනය වෙනවා. ඒ වගේම හීමොෆීලියාව සුවයටත් ආධාර වෙනවා.

## ඇලදිව ප්‍රාණ බල ගුලි/පෙති

හුලංකීරිය අල කිලෝ 1 ½ යි, කිරිබොදු අල ග්‍රෑම් 500 යි, දඹල අල හෝ එරබදු මුල් ග්‍රෑම් 500 යි, සියල්ල අමුවෙන් ගෙන විනාඩි තිහක් පමණ වණ්ඩුවේ තම්බා ගෙන කැබලි කපා වේලා ගෙන කුඩු කරල පෙනේරයකින් හලා ගන්න.

ඉන්පසු තල්සූකිරි කිලෝ 1 යි, වියළි කහ කුඩු ග්‍රෑම් 50 යි, නිල්කටරොඩු වියළි කොළ ග්‍රෑම් 25 යි, මල් ග්‍රෑම් 25 යි, මේ සියල්ලම හොඳට කුඩු කරගෙන පෙනේරයකින් හලාගෙන ඉහත කුඩුත් සමග පිරිසිදු පොල් විනාකිරි බෝතල් තුන් කාලයි (3/4), එළදෙනකගේ හෝ වැස්සියකගේ මුත්‍රා බෝතල් 1 යි එකතු කරල සියල්ලම එකට අනාගෙන, දියර මදි නම් සමාන්‍ය පමණට හෝ සම්පූර්ණයෙන් නිවාගත් උණු වතුර හෝ එකතු කරල ගුලි කරන්න පුළුවන් පදමට අරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කර ගන්න. (දියර ගතිය වැඩි වුනොත් සෙල්සියස් අංශක 40 පමණ උෂ්ණත්වයකින් බස්සව ගන්න.)

උදේ දවල් රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාස 4 ක් ගන්න. මේ මගින් ඇලදිව ආශ්‍රිත සියලු අපද්‍රව්‍ය ඉවත් වෙලා සුද්ධ වෙනවා. අඩක් දුබල වෙච්ච අක්මාවත් නැවත ක්‍රියාත්මක වෙනවා. වැඩි ආහාර රසය (පෝෂණ ධාතුව) ගබඩා කරල තියාගෙන සුදුසු පරිදි බෙදා හැරීම ක්‍රමානුකූලව සිද්ධ වෙන නිසා සීනි පාලනයත් සිද්ධ වෙනවා. බඩ පපුව දැවිල්ල, අම්ල පිත්ත ප්‍රදාහය සමනය වෙනවා. ඇලදිවේ බැඳුනු තෙල් තට්ටු ඉවත් වෙනවා.

## කායික ආබාධ රැසකට විසරණ ගුලි/පෙති

වියලි පොඩිසිඤ්ඤෝ මරං මල් කිලෝ 1 යි, සහිඳ ලුණු ග්‍රෑම් 100 යි සියුම් වෙන්න කුඩු කර ගෙන වෙනම තියා ගන්න. ඉන්පසු අමු අත්තික්කා පොතු කිලෝ 1 යි, අමු බරින් බැවිල කිලෝ 1 යි කොටා ගෙන පැහෙන උණු වතුර මිලි ලීටර් 450 ක් දමා නිවෙන්න හැර නිවුනට පසු මිරික ගන්න. ඒ ඉස්මෙන් ඉහත කුඩු ටික අඹර ගෙන කෝපි ගෙඩි පණට ගුලි/ පෙති කරල වේලල තියාගන්න.

උදේ රාත්‍රී ආහාරයට පසු ගුලි එක බැගින් දින 14 පටන් මාසයක් දක්වා ගැනීම ප්‍රමාණවත්.

මේ මගින් අතපය, හන්දි ඉදිමුම, මස් පිඩු වේදනා කැක්කුම් සුව වෙනවා. අක්‍රමවත් හද ගැස්ම සහ නහර දුර්වලතා දුරුවෙනවා. ආහාර රුචිය වැඩෙනවා. තෙහෙට්ටුව, හුස්ම ගැනීමේ අපහසුතාවය දුරුවෙනවා. සිරුරේ විස ගති ඉවත් වෙනවා. විසෙන් හටගත් චර්මාබාධ ඇත්නම් සුව වෙනවා. රුධිර පීඩනය සමතුලිත වෙනවා.

ඒ වගේම පසුගිය 97 කලාපයෙන් ඉදිරිපත් කළ කාය විස හරණ පැණියත් මේ බේතත් එක්කම ගන්න.

## අස්ථි පද්ධතිය ශක්තිමත් වීමට අට්ඨි වර්ධන චූර්ණය

රට ඉඳි ඇට කිලෝ 10 ක්, පිරිසිදු වතුර බෝතල් 12 ක් සහ පිරිසිදු එළකිරි බෝතලයක් (මිලි ලීටර් 750 ක්) සමග මිශ්‍ර කරල, ඒ සියල්ලම ලිපේ තියල සෙල්සියස් අංශක 70-80 අතර උෂ්ණත්වයකින් දින දෙකක්( පැය 48 ක්) නොකඩවා තම්බගෙන වේලගෙන පිටි කරගන්න.

ඒ පිටි කිලෝ 1 කට පිරිසිදු එළගි තෙල් බෝතල් එකයි, කුඩු කරගත් සුදු සූකිරි ග්‍රෑම් 550 යි මිශ්‍ර කරල හොඳට අනාගෙන තියාගෙන උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු තේ හැඳි 2 බැගින් මාස හයක් ගන්න. අවුරුදු 11 න් පහළ අයට නම් තේ හැඳි 1 යි. මාස හයකට පසු අතරින් පතර ගත්තට වරදක් නෑ.

මේ මගින් අස්ථි පද්ධතිය වැඩෙනවා. අස්ථි දිරන ආබාධය සුව වෙනවා. කාය බලය වැඩෙනවා. දුබල අයගේ කාය ශක්තිය ප්‍රබල වෙනවා. මාස හයක් ගැනීමෙන් උරහිසේ මස් පිඩු තද කළාම යකඩ පොල්ලකින් ගැහුවත් යකඩයත් නැමෙන මට්ටමට ශක්තියක් ලැබෙනවා.

## සාමාන්‍ය සහ ප්‍රබල චර්මාබාධ සඳහා චර්ම වර්ධන ගුලි/පෙති

මේ සඳහා මාළු, කරවලවල පිලී පොතු, හංකඩ අවශ්‍යයි. හැබැයි **කිසි විටෙකත් මේ බෙහෙත වෙනුවෙන්ම කියල මරාගත්ත සතුන්ගේ කොටස් නොගත යුතුයි. ඒ විදිහට අසාධාරණකම් කරන්න ගියොත්, කරගන්න පාප කර්මවලට අමතරව මේ බේත ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා.** ඒ නිසා ඒවා විකුණන තැනකින් හෝ ඒ විදිහට ඉවත දමන කොටස් හෝ ලබා ගන්න. වෙනත් විදිහකින් කියනව නම් පාංශුකූල හෙවත් පවත්ත කොටස් ලබා ගන්න. එතකොට කාටවත් අසාධාරණයක් වෙන්නෙ නෑ. (පවත්ත මාංශ ගැන වැඩිදුර විස්තර දැන ගැනීමට හෙළ බොදු පියුම 9,10,11 කලාප කියවන්න)

දැන් ඒ විදිහට ලබා ගත්ත මාළු කරවල පිලී පොතු, හංකඩ කබලේ රත්වන් පාට වෙන්න බැදගෙන කුඩු කරගන්න. ඉන්පසු කුඩලු දෙහි ඉස්මෙන් අඹර ගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල හෝ පෙති විදිහට හදාගෙන වේල ගන්න. (කුඩලු දෙහි ඉස්ම වෙනුවට පිරිසිදු පොල් විනාකිරි සහ දෙහි ඇඹුල් සමව ගන්නත් පුළුවන් )

සාමාන්‍ය ආබාධවලට උදේ, රාත්‍රී ගුලි එක බැගින් ගන්න. දරුණු ආබාධවලට ගුලි දෙක බැගින් ගන්න. මාස හයයි. මේ මගින් සමේ එන මුදස්පලම් වගේ ඉන්නන් ඉවත් වෙනවා. කිලොයිඩ් කියල හඳුන්වන මස් ලියලීමේ රෝගය සුව වෙනවා. හම දිරන අළුහම් ළප කැළැල් ආදිය සුව වෙනවා.

## ළමයින්ගේ නොවැඩුණු හිස්කබල වැඩීමට අට්ඨි වර්ධන ශීර්ෂා ලේපය

බල මාළු කටු පුච්චා ගත් අළු, වතුර නොදා සකස් කරගත් හෙන්දිරික්ක අල ඉස්මෙන් දිය කරල උදේට දරුවාගේ හිස ගල්වා පැය අටකට පසු උණු වතුරින් සෝදා හරින්න. දින පහළොවක් කිරීම ප්‍රමාණවත්.

(සැ.යු. කලින් සඳහන් කළ පරිදිම කිසි විටෙකත් මේ බේත වෙනුවෙන්ම කියල මරාගත් සතුන්ගේ කොටස් නොගත යුතුයි. විකුණන තැනකින් ඉවත් කරන හෝ මිලදී ගත් කොටස් පමණක් යොදා ගන්න.)

## බල රාජ ගුලි /පෙති

කලින් සඳහන් කළ ආකාරයටම දැහැමි ක්‍රමයකට ලබාගත් බල මාළු

හෝ බල කරවල ඇට පුච්චාගෙන අළු කරල පිරිසිදු දෙහි ඇඹුලෙන් අනාගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල වේල ගන්න.

උදේ දවල් රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් ගන්න. මාස 3 ක් ගැනීම ප්‍රමාණවත්.

මේ මගින් ශරීරයේ ඇට (අස්ථි) දිරීම නවතා තරුණ අස්ථි වර්ධනය කරනවා. හන්දිපත් වේලීම, ආතරයිටීස් සුව වෙනවා.

## අට්ඨි වර්ධන ගුලි/ පෙති

ගම්මිරිස් වැල්, කොළ සමග අමු බරින් කිලෝ 2 යි, අමු බරින් අත්තික්කා පොතු කිලෝ 1 යි ග්‍රෑම් 200 යි, දැහැමි ක්‍රමයකට ලබාගත් කොඳු ඇට සහිත ඕනෑම වර්ගයකින් හෝ වර්ග කිහිපයකින් කරවල කටු, මාලු කටු කිලෝ 2 යි.

ගම්මිරිස් වැල් සහ අත්තික්කා පොතු කොටා ගෙන ඉස්ම අරගෙන (අවශ්‍ය නම් දෙවැනි වතාවට වතුර ටිකක් එකතු කර මිරික ගන්න.) කරවල මාළු කටු රන්වන් පාටට බැදගෙන කුඩු කරල ඒ ඉස්මෙන් අඹර ගෙන කෝපි ගෙඩි පමණට ගුළි කරගන්න. දියාරු වැඩිනම් සෙල්සියස් අංශක 60 උෂ්ණත්වයේ බස්සව ගන්න.

උදේ දවල් රාත්‍රී ආහාරයට පසු ගුලි 2 බැගින් මාස 6 ක් ගන්න.

මේ මගින් කොඳු ඇට පෙළ ඇදවීම, අතපය ඇදවීම, ඇට (අස්ථි) දිරීම, ආතරයිටීස් ආදී ඇට ආශ්‍රිත ආබාධ සුව වෙනවා. දිරාගිය කොටස් සුද්ධ වෙලා නැවත වැඩෙනවා. ලේ පිලිකාව (ලියුකේමියාව) වගේම ස්නායු ආබාධ, අංශභාග, දියවැඩියා, වකුගඩු ආබාධ, හෘදයාබාධ ආදියත් සුව වෙනවා

## කායික ආබාධ බොහොමයකට ඕජස් සමන ගුලි/පෙති

හික් ගහේ මැලියම් සහ ලිපේ අළු සමබරට අරගෙන පිරිසිදු මී පැණිවලින් අඹර ගෙන කෝපි ගෙඩි භාගයක පමණ ප්‍රමාණයට පෙති හෝ ගුලි වශයෙන් හදාගෙන වේල ගන්න. (සැ.යු. ලිපේ අළු ගන්නකොට විවිධ රසායනික යෙදූ දැව ආදිය මිශ්‍ර වෙච්ච අළු යොදාගැනීමෙන් වලකින්න. හැමවිටම පිරිසිදු දරවලින් එන අළු පමණක් යොදාගන්න.)

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසුව ගුලි/පෙති දෙක බැගින් සති තුනේ පටන් මාස තුන දක්වා ගන්න.

මේ මගින් මව්වරුන්ගේ කිරි තදවීමේ ආසාදන, ඇඟ උණුකරවා යාම, සමහර අයට අධෝ මාර්ගයෙන් නිතර ඉස්ම ගැලීම, ඇස්වල කන්වල අපද්‍රව්‍ය හිරවීමේ ආබාධ, බෙල්ලේ උගුරේ සෙම හිරවීම, කතා කිරීමේ අපහසුතාවය, පපුව හදවත පෙළෙන හුස්ම ගැනීමේ අපහසුතාවය, මස් පිඬු තද වෙලා හන්දි නැමීමේ අපහසුතාවය... ආදී ආබාධ සුව වෙනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 98 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

■ පූජ්‍ය ධම්මරතන හිමි ■ පූජ්‍ය කිවුල්දෙනියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය දික්බැද්දේ චූලරතනාලංකාර හිමි ■ පූජ්‍ය මොරගොල්ලේ ඉන්දසුමන හිමි ■ පූජ්‍ය අවිස්සාවේල්ලේ පියරතන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ රොෂාන් හෙන්දහේවා මහතා සහ චින්තා හඳපාන්ගොඩ මහත්මිය - ඕස්ට්‍රේලියාව ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ හේමාල් ඉන්ද්‍රජිත් වීරකෝන් මහතා - බණ්ඩාරගම ■ නිවන්ති වීරතුංග මහත්මිය - මාතලේ ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය**

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - දෝහා කටාර් - රු. 32,190/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දැදිගම මහත්මිය - ඇමරිකාව - රු. 24,190/- ■ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 20,000/- ■ සමන්ත දියෝගබඳු මහතා, ගයනී ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබඳු පුතා, ඩිලාරා දියෝගබඳු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය, ඒ. ඩී රූපා පෙරේරා මෙනවිය - නුගේගොඩ - රු. 12,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ සිතිර නරසිංහ මහතා, අචනා ගුණරත්න මහත්මිය, තරුෂ නරසිංහ පුතා, මිහෙලි නරසිංහ සහ සෙනුලි නරසිංහ දියණියන්- පන්නිපිටිය -රු.8960/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,960/- ■ මධුෂාන් තිළිණ අබේසිංහ මහතා, නිල්මිණි හේමන්තිකා රත්නසේන මහත්මිය ඇමරිකාව- රු.8960/- ■ එරන්ද මලිගස්පේ මහතා, වෛද්‍ය නිලූපා ගස්පේ මහත්මිය, කිවේන් මලිගස්පේ පුතා - ඇමරිකාව - රු. 5,000/- ■ ජී. ධර්මසේන මහතා සහ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 5,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අභිෂ්ක හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන්

- නාවින්න - රු. 5,000/- ■ මදාරා ගුණවර්ධන මහත්මිය, ජනිත් විදර්ශන මහතා- මහරගම- රු.5000/- ■ රවී අමුණුගම මහතා, හේමාලි අමුණුගම මහත්මිය- ඇමරිකාව-රු.4480/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,480 ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම, එම්.ටී සුගතදාස මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,590/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,590/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,590/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පවුලේ සැම - තිහාරිය - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ මනෝජ් ජයසූරිය මහතා ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 3,000/- ■ ජේ. එම්. ඒ. බණ්ඩාර මහතා, වී. එස්. ජයතිලක මහත්මිය, ජේ. එම්. ඕ. නවින්ද්‍යා බණ්ඩාර දුව - මහනුවර - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොල මහතා ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 2,500/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 2,000/- ■ සෙනරත් බස්නායක මහතා, හසිත කසුන් බස්නායක පුතා, ජනුධ කුසල් බස්නායක පුතා, අනුරිකා වීරසේන මහත්මිය - යක්කල - රු. 2,000/- ■ සුදන්ත සූරියබණ්ඩාර මහතා සහ ඉරේෂා සූරියබණ්ඩාර මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 2,000/- ■ එන්. ජී. ජයතිලක මහතා සහ එන්. ජයතිලක මහත්මිය - මහනුවර - රු. 2,000/- ■ ඩිලානි පෙරේරා මහත්මිය - හේනෙගම - රු. 2,000/- ■ සුනීතා බුලත්සිංහල මහත්මිය - ඕමාන් - රු. 2,000/- ■ ලක්මාල් මහතා- හෝමාගම-රු.1700/- ■ සුජාත සේනානායක මහතා, මාලා වීරකෝන් මහත්මිය, ලාලනී අමරවික්‍රම මහත්මිය- පිලියන්දල-රු.1500/- අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 1,500/- ■ උපුල් ජයරත්න මහතා සහ ගිහානී ජයරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 1,500/- ■ ඩබ්. එම්. විජේසූරිය බණ්ඩාර මහතා සහ දිලානි දීපිකා බණ්ඩාර මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,350/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ තිලකසිරි ජයරත්න මහතා, රොෂාන් මාලක මහතා, චතුරානි ඉන්දිකා මහත්මිය, හිමාෂා සේමිණි දුව, තිනෙත් හිමංස පුතා - පස්යාල - රු. 1,100/- ■ ගාමිණී තිලකරත්න මහතා, අරුණ මහතා- වේයන්ගොඩ-රු.1100/- ■ ධම්මචන්ද්‍රා සිල්මාතාව- ආරණ්‍ය සෙනසුන, රඹුක්කන - රු.1000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුළපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළුගෙඩිහේන - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දාබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ ලලනී ජයරත්න මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය ඇතුළු පවුලේ සැම - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ පැතුම් ශානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ අමරසිරි හේරත් මහතා, දම්සිත් විජේකෝන් පුතා, බියුටි විජේකෝන් මහත්මිය - රාගම - රු. 1,000/- ■ විශාඛා ඇටිපොල මෙනවිය - මාතලේ - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ කේ.ඒ. උපාලි ජිනදාස මහතා දිවුරුම්පිටිය - රු. 1,000/- ■ ඒ.දිලාන් නුවන් පුතා- ස්කොට්ලන්තය රු 1000/- ■ ඩී.ඒ. විලෝචන අතුකෝරල පුතා, කේ.ලියනෝරා මහත්මිය, අරුග්ගම්මන අප්පුහාමි මහතා,ඩී.ඒ.ජයවර්ධන මහතා,ඩී.ඒ.ලක්ෂ්මන් මහතා,බී.ඒ.චම්පිකා වීරසේන මහත්මිය- ගෝණගල්දෙණිය-රු.1000/- ■ උද්දාමි ජීවන්ති පතිරණ මෙනවිය- ඇතුල්කෝට්ටේ-රු.1000/- ■ ගුණදාස මහතා- දන්දෙණිය - රු.1000/- ■ හසිත ධනංගොඩ මහතා- කොළඹ 10 - රු.1000/- ■ ඩී.කේ.ඩී.ධර්මසේන මහතා-නාරාහේන්පිට-රු.1000/- ■ සෙනිතු අබේගුණවර්ධන පුතා, රනිතු අබේගුණවර්ධන පුතා- පානදුර-රු.1000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම-මෙල්බන් නුවර-රු.1000/- ■ ඩයනා සුබසිංහ මහත්මිය, වත්සලා සුබසිංහ මහත්මිය- හෝමාගම-රු.1000/- ■ එම්. සමන් දිසානායක මහතා, සුජාතා මහත්මිය, අස්වින් දුව - පිලියන්දල-රු.1000/- ■ ඉරේෂා ඇන්ඩෘ මහත්මිය, සරත්චන්ද්‍ර ඇන්ඩෘ මහතා, ප්‍රගීෂා නයෝමි දුව, සුමුදු ඉරේෂ පුතා-මහරගම-රු.1000/- ■ උපුල් විජේනායක මහතා ඇතුළු පවුලේ සැම - මාවනැල්ල, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, චාමිකර දම්සක් පුතා, හිරුණි එරන්දිකා දුව - කිරිබත්ගොඩ, සුජාතා හෙට්ටිආරච්චි මහත්මිය- පොල්ගස්ඕවිට, චතුරංග බණ්ඩාර මහතා, ඩී.එම්.පී.බණ්ඩාර මහතා, ඉන්ද්‍රානි රත්නායක මහත්මිය - කළුතර, ටී.ආර්. චන්ද්‍රා ජයවර්ධන මහත්මිය- රුවන්වැල්ල, එම්.ජී කරුණාවතී මහත්මිය - පාදුක්ක, රූපවතී රොද්‍රිගු මහත්මිය - පිටිපන, කේ.ඒ.ඊ.දහම්සා සඳනෙතු දුව, කේ.ඒ.ඊ තුලසි මිණිමුතු පුතා,කේ.ඒ.ඊ මනුලි නිල්මෙතු දුව-රදාවාන - එකතුව - රු. 5,350/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 392,290/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 8,220/- ■ සම්පූර්ණ වියදම - රු. 403,470/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු . 26.89/- ■ නිෂ්පාදන කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියව ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 0775003411/ 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන, 4 වන සහ 5 වන සෙනසුරාද භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථානඃ

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාද පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල - 071 0118101 ■ කුමාරි අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 0786949860 ■ පෝලර් රීජන්ස්, 402 සී, ගාලු පාර, පානදුර- 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්‍ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ දේශීය ස්ටෝර්ස්, ලංකාදීප අලෙවි නියෝජිත, හපුතලේ පාර, වැල්ලවාය 0775532694, 0718375871 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්ද්‍රාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඩියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල - 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871 ■ සඳමිණි පූජා භාණ්ඩ, කුලියාපිටිය පාර, දුම්මලසූරිය - 077 4430223

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# අනුවණයා දහම නොදනී

මහසත් ගුණ සපිරි හැම සත සිත නිවන
දහසක් නයින් මොනවට බුදු බණ දෙසන
මහසුප් තෙරිඳු සඳ නිතොරවැ වැඩ වසන
යහපත් පුළිල ලෙන රජගහ සුව අරණ

අරණෙහි එම වසන සමයක මහ තෙරිඳු
ඇසුරෙහි විසුව දෙනමකි ඇති ගති විරිදු
පිරුමෙහි වත නමක් නිති වෙහෙසෙන නමුදු
කරුණෙහි එම වගක් නැත අනෙකට කිසිදු

එම තුදු නොවේ අඩුවකි මොහු තුළ තිබුන
මඳ කුදු සැක බියක් නැත බොරුමය දොඩන
ගුණ රැඳු සඟන නම සියතිනි ඉටු කරන
පරසිඳු කළා තම වැඩ බව මෙම සමන

බොරු බස් එලෙස පවසන හිමි නම කැඳවා
උවදෙස් දුනි සමිඳු මොහු සිත නොම රිදවා
අදහස් කළ නමුදු ගනු වරදිනි මුදවා
උදහස් වුනා මොහු සිත නොසතුට රඳවා

වරදක තරම කළ මෙම අදමිටු සමන
අසලක උවසු ගෙයකට දවසක පැමිණ
ලෙඩ දුක නිසා හිමි සඳු නොවඩින බැවින
බිය සැක නැතුව දන් ඉල්වා යයි රැගෙන

පිළිවිස දැන මෙගැන මොහු ගැන කල කිරුනු
දැඩි ලෙස කියා දුනි හිමි මොහු හට කරුණු
උදහස තව දියුණු විය මොහු තුළ තිබුනු
අදහස පළි ගැනුම විය සිතැ පැන නැගුණු

පසු දින කිසිවෙකුදු නොසිටිය විටදී ලෙනේ
මතු වින අදහසක් මොහු තුළ දරුණු ගණේ
ගිනි ගෙන දැවුනි ලෙන බල මොහු කරපු විනේ
සඟ ගණ පුවත බුදු හිමි අභියසට ගෙනේ

සම වන තමා හට කිසිවෙකු නොමැති විට
එලෙසින කළණ මිතුරෙකු හමු නොවන විට
නිතියෙන හුදකලාවම දිවි ගෙවන විට
සතුටින විසිය හැක නිසැකව සියලු විට

අනුවණ දුදන සහ සුහදව විසීමෙනි
ඇතිවන සෙතක් නැත බණ වුව දෙසීමෙනි
යහ ගුණ වඩන සුදනන් බස ඇසීමෙනි
යහතින වසනු බැරි පෙර පව නිසාවෙනි

අදැහැමි අය වෙසෙති හැම විට මුලාවෙන්
භව බැම් සිඳිනු හැකි වෙද එම පමාවෙන්
දුක නිම් කරනු බැරි මොහඳුර නිසාවෙන්
බුදු හිමි ඔවා දුනි එපරිදි දයාවෙන්

(ධම්ම පදය - බාල වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



සිත
කය
වචන

# තුන් දොර රැකුම සැමටම හැමවිට වැදගත්

නිරතුරු පෙළෙන තුන් දොර දිගු සසර හෙළු
පරතෙර නොම පෙනෙයි තැකුවොත් ලෙසට සුළු
කරවන කරන තෙපලන සහ හිතන රළු
අරමුණ වුවද දුක් දිය හැක සසර මුළු

පහසුයි තිදොර පරිහරණය නරක ලෙස
දහමයි අපහසුව ගන්නට නොමැත ඇස
නහවයි දුකෙන් යෙදුවොත් වැරදියට බැස
පවසයි මෙතුන් දොර කෙනෙකුගෙ ඉදිරි පස

සේරි නම් වෙළඳ බෝසත් සමග ගැටී
පෑරි පෑරි ආ දෙව්දත් භවයෙ හැටී
නෑරි අනත සසරෙහි පළි ගැනුම දුටී
ගෝරි කෙලවරයි අට මහ නිරයෙ වැටී

වදනක් කෙරුව හදියක් දිගු සසර පුරා
අහුරක් වැලිද ගෙන ඇට ගණනටම අරා
භවයක් ගණනෙ ආවා පළි ගැනුම දරා
නිරයක් හිමි වුනා ගිනිදැල් අතර සරා

වැඩු මහ ගුණය බුදු පිය කස්සප ගාවා
මුඩු මහණ යැයි අප බෝසත් තුම කීවා
දෙඩු පද මෙබවෙ සයවස් දැඩි දුක ආවා
අඩු නැත ඵලය බුදු වෙන්නත් බල පෑවා

බෝසත් තුමා එදවස එහි වරද පෙනී
පා මොක් සුව පතා වැඳ ඒ රජිඳු මුනී
වූවත් කමා විවරණ මැද එලෙස වුනී
ඒකත් දහම් පණිවිඩයක් විලස දුනී

පිරුණු බෝ සතුන්ටත් ආ එවැනි යථා
දරුණු වෙනව කම් ඵල ඉදිරියෙහි ඇතා
කරුණු එසේනම් අප ගැන කුමන කතා
කෙරුණු දෑ කෙරෙහි ඒ ලෙස බලනු සිතා

හොඳටත් නරකටත් තුන් දොර සැමට සකී
අදටත් නියමයකි වෙනසක් නැතුව පැකී
වැදගත් ලෙසට යෙදුවොත් ගොඩ යනුද හැකී
බිඳකුත් නොමැත අවසර වරදකට රැකී

සිතිවිලි වදන් කිරියා මුල් කරම සත
ඇති නැති අඩු වැඩිද ලෙස ලොව පහළ වෙත
කති බොති නටති පිනවති යළි පණද යත
ගතියට අනුව යළි ඉපදෙති නිවන නැත

පින් පව් දෙකට තුන් දොරමය මුල වන්නේ
ඉන් දිගු සසර ඉදිරිය ගැන කිය වෙන්නේ
අන් අය ගුණ නොදැන දොස් පද නොකියන්නේ
තුන් දොර සංවරව දිවි මග ගෙනියන්නේ

සතෙකුට වුවද හිරි හැරයක් නොකරන්නේ
නැතුවට සුගති බෝසත් විය හැකි වන්නේ
එම විට පාප කඳ බලවත් ලෙස එන්නේ
සුළු කොට නොතක කය සංවර කර ගන්නේ

කරනව නම් යමක් දෙලොවට වැඩ ගෙනෙනා
කියනව නම් බසක් අන් සිත් නොම රිදෙනා
හිතනව නම් දෙයක් ලොව අනියත දකිනා
නොදනියි නම් මුකුත් නිහඬව ඉනු සොඳිනා

අනුන් හට එහෙයි කියනා පිරිස් වෙමින්
නොවන් වහල් ඵල දෙන විට නොරිස්සමින්
තමන් කරන කී දෑ හැම පිරික්සමින්
නිවන් දකින්නට තුන් දොර පරිස්සමින්

අන් අය පෙලා "මම" රකිනට ලොව බැඳ ගත්
පින් පව් නොදැන කරනා දෑ දුගතිය දෙත්
ඉන් දැන ගෙනා නිවනට පෙර නිසි මග පෙත්
තුන් දොර රැකුම හැමටම හැමවිට වැදගත්

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1098 RS.25.00
HELA BODHU PIYUMA 98

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.